# කුදුසික සමුච්චය

බන්ධක වල එන ශික්ෂාපද හා අනුදැන වැදෑරීම්

(භික්ෂූන් වහන්සේලාගේ ප්‍රයෝජනය සඳහා)

# කුදුසික සමුච්චය

## ඛන්ධක වල එන ශික්ෂාපද හා අනුදැන වැදෑරීම්

(භික්ෂූන් වහන්සේලාගේ ප්‍රයෝජනය සඳහා)

සැකසීම :- වනරතන බේමක හිමි

# හැඳින්වීම

විනය පිටකය උභතෝවිභඞගය, උභතෝඛන්ධක, පරිවාර වශයෙන් කොටස් තුනකට බෙදේ. පාරාජිකාපාළි, පාචිත්තියපාළි පොත් වලින් උභතෝවිභඞගය සමන්විත වන අතර භික්‍ෂු ප්‍රාතිමෝක්‍ෂයට අයත් ශික්‍ෂා පද 220 (අධිකරණ සමථ ශික්‍ෂා පද නොවේ) හා භික්‍ෂුණී ප්‍රාතිමෝක්‍ෂයට අයත් ශික්‍ෂාපද 304 මේවායින් විස්තර කෙරේ. මහාවග්ගපාළි, චුල්ලවග්ගපාළි ග්‍රන්ථ දෙකෙහි විනය සම්බන්ධ ඛන්ධක 10 බැගින් අඩංගු වේ. පළමුවන හා දෙවන සංගීති විස්තරත් සමඟ චුල්ලවග්ගයෙහි ඛන්ධක 12කි. මෙම ග්‍රන්ථ වල එන විනය සම්බන්ධ ඛන්ධක 20හි විනයකර්ම, විනයකර්ම විධි, වත්පිළිවෙත් විස්තර කෙරෙන අතරම සේඛියා ගණයට ගැනෙන තවත් බොහෝ ශික්‍ෂාපද ද අන්තර්ගත වේ.

බොහෝ භික්‍ෂූන් වහන්සේලාට ප්‍රාතිමෝක්‍ෂයේ පැමිණෙන ශික්‍ෂාපද 227 පිළිබඳව අවබෝධයක් ඇති මුත් ඛන්ධක වල එන ශික්‍ෂාපද පිළිබඳව කිසිදු අවබෝධයක් නැති තරම්ය. නමුත් යම් භික්‍ෂුවක් සිල්වත් වී සීලය රැකීමට උත්සුක වන්නේ නම් මෙම ශික්‍ෂාපද පිළිබඳව දැනගත යුතුමය. මෙම ග්‍රන්ථයෙන් උත්සාහ ගැනෙන්නේ එම අවබෝධය පාඨකයාට ලබාදීමටයි. එම ශික්‍ෂාපද ද එක්කොට රචිත 'බුද්දසික්ඛා' නම් වූ පැරණි වටිනා පාලි ගාථා පොතක් ඇතිමුත් එය කියවූ භික්‍ෂූන් වහන්සේ නමක් සොයා ගැනීම අද උගහටය. මෙවැනි පාලි පොතක් තිබුණද මෙම ශික්‍ෂා පද එකතු කොට ලියුවුනු සිංහල පොතක් නම් මා දන්නා තරමින් ඇත්තේ නැත. මේ නිසා මෙම පොත මඟින් විනය අවබෝධය පිළිබඳව ඇති මෙම විශාල හිඩැස පිරවෙනු ඇතැයි අපි බලාපොරොත්තු වන්නෙමු.

ශික්‍ෂාපද වලට අමතරව අනුදැන වැදෑරීම්ද මෙහි ඇතුලත් කොට ඇත්තේ ඒවා ඇතැම් ශික්‍ෂාපද වලට සෘජුව සම්බන්ධ වන බැවිනි. භික්ඛුනී ඛන්ධකයේ භික්‍ෂූන්ට අදාල ශික්‍ෂාපදත්, භික්‍ෂූණීන්ට අදාල ශික්‍ෂා පදත්, දෙපිරිසටම පොදු ශික්ෂා පදත් විස්තර කෙරේ. භික්ෂුණීන්ට අදාල ශික්‍ෂා පද මෙහි ඇතුලත් කළේ හුදෙක් පරිපූර්ණ භාවය සඳහාය. විනයධරයෙකු වීමට කැමති භික්‍ෂුවක් විසින් භික්‍ෂුණී විනයද දත යුතුමය. ශික්ෂාකාමී භික්‍ෂූන් වහන්සේලා විසින් ඛන්ධක වල එන මෙම කුඩා ශික්‍ෂාපද ද උගෙන, එම ශික්‍ෂාපද ප්‍රාතිමෝක්‍ෂයේ සඳහන් ශික්‍ෂාපද සේම ආදර ගෞරවයෙන් යුක්තව සුරකිනු ඇතැයි යන්න අපගේ පැතුමයි.

මීට,
සංස්කාරක
(2020-11-12)

# පටුන

# 1 . මහාවග්ගපාළි

## 1 .1 මහාබන්ධකය

1) ත්‍රිවිධ වූ සරණගමනින් පැවිද්ද හා උපසම්පදාව අනුදැනීම.

2) ආරාම පිළිගැනීම අනුදැනීම.

3) උපාද්ධ්‍යායයකු අනුදැනීම. ("උපාද්ධ්‍යාය තෙමේ තම ශෝ්ලයා කෙරෙහි 'මේ මාගේ දරුය' යන සිත උපදවන්නේය. ශෝ්ල තෙමේ උපාද්ධ්‍යායයා කෙරෙහි 'මේ මාගේ පියාය' යන සිත උපදවන්නේය. මෙසේ ඔවුනොවුන් කෙරෙහි ගෞරව ඇතිව, සැළකිල්ල ඇතිව ගැලපෙන පැවතුම් ඇතිව වසන්නෝ මේ සසුනෙහි වැඩීමට අභිවෘද්ධියට, මහත් බවට පැමිණෙන්නාහ.")

4) සද්ධිවිහාරිකයා (ශෝ්ලයා) උපාද්ධ්‍යායයන් කෙරෙහි මැනවින් පැවතිය යුතුය. යමෙක් මැනවින් නොපවත්නේ නම් (වත් නොපුරන්නේ නම්) දුක්කට ඇවැතක් වේ.

5) නොමනා ලෙස පවතින සද්ධිවිහාරිකයා බැහැර කිරීමට අනුදැනීම.

6) බැහැර කරන ලද සද්ධිවිහාරිකයා විසින් උපද්ධ්‍යායයන් කමා කරවිය යුතුයි. යමෙක් උපද්ධ්‍යායයන් කමා නොකරවන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

7) කමා කරවන සද්ධිවිහාරිකයාට සමාව දිය යුතුය. කමා නොකරන උපාද්ධ්‍යායයන්ට දුක්කට ඇවැතක් වේ.

8) මනාකොට පිළිවෙත් පුරණ සද්ධිවිහාරික බැහැර නොකළ යුතුය. බැහැර කරන්නේ නම් දුකක්ට ඇවැතක් වේ. මනා සේ නොපවතින සද්ධිවිහාරිකයා බැහැර කළ යුතුය. බැහැර නොකරන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

9) තුන්සරණගමනින් උපදසම්පදාව ප්‍රතික්ෂේප කොට ඤත්තිචතුත්ථ කර්මයෙන් උපසම්පදා කිරීම අනුදැනීම.

10) උසම්පදාව නොඉල්ලූ කෙනෙකු උපසම්පදා නොකළ යුතුය. කළොත් දුක්කට ඇවතක් වේ.

11) උපසම්පදා කරන්නහු විසින් සතර නිස්සය කියාදීමට අනුදැනීම.

12) උපසම්පදාවට පළමුව සතර නිස්සය නොකිය යුතුයි. කිවහොත් දුක්කට ඇවතක් වේ. උපසම්පදාවට අනතුරුවම සතර නිස කීමට අනුදැනීම.

13) දස නමකට අඩු සංඝයා උපසම්පදා නොකළ යුතුයි. කළොත් දුක්කට ඇවතක් වේ. දස නමකට හෝ ඊට වැඩි පිරිසකට උපසම්පදා කිරීම අනුදැනීම (පසුව මෙය මධ්‍ය දේශයට සීමා කරන ලදී. 1.5.19 අංකය බලන්න).

14) වස් දහයට අඩු භික්ෂුව විසින් (උපද්ධ්‍යයාය ලෙස) උපසම්පදා නොකළ යුතුයි. උපසම්පදා කළොත් දුක්කට ඇවැතක් වේ. වස් දහයක් හෝ ඊට වැඩි භික්ෂුව විසින් උපසම්පදා කිරීමට අනුදැනීම.

15) අනුවණ අව්‍යක්ත භික්ෂුව විසින් (උපාද්ධ්‍යයාය ලෙස) උපසම්පදා නොකළ යුතුයි. උපසම්පදා කළොත් දුක්කට ඇවැතක් වේ. වස් දහයක් හෝ ඊට වැඩි ව්‍යක්ත ප්‍රතිබල භික්ෂුව විසින් උපසම්පදා කිරීමට අනුදැනීම.

16) (උපාද්ධ්‍යයයන් නැති වූ කළ) ආචාර්යයවරයෙකු අනුදැනීම. (ආචාර්යවරයා විසින් තම සිසුවා කෙරෙහි 'දරුවාය' යන සිතද, සිසුවා විසින් ආචාර්යවරයා කෙරෙහි 'පියාය' යන සිතද පිහිටවිය යුතුය.)

17) සිසුවා දසවසක් නිස යටතේ විසීමටත්, දසවස් පිරුණු ඇදුරකු විසින් නිස දීමටත් අනුදැනීම (පසුව නිස කාලය වෙනස් කෙරිනි).

18) අන්තේවාසික (සිසුවා) විසින් ඇදුරා වෙත මැනවින් පැවැතිය යුතුය. යමෙක් මැනවින් නොපවත්නේ නම් (වත් නොපුරන්නේ නම්) දුක්කට ඇවැතක් වේ.

19) නොමනා ලෙස පවතින සිසුවා බැහැර කිරීමට අනුදැනීම.

20) බැහැර කරන ලද සිසුවා විසින් ඇදුරු කමා කරවිය යුතුය. යමෙක් ආචාර්යවරයා කමා නොකරවන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

21) කමා කරවන සිසුවාට සමාව දිය යුතුයි. කමා නොකරන ඇදුරාට දුක්කට ඇවැතක් වේ.

22) මනාකොට පිළිවෙත් පුරණ අන්තේවාසික බැහැර නොකළ යුතුයි. බැහැර කරන්නේ නම් දුක්කට ඇවැතක් වේ. මනාසේ නොපවතින සිසුවා බැහැර කළ යුතුයි. බැහැර නොකරන්නේ නම් දුක්කට ඇවතක් වේ.

23) අනුවණ අව්‍යක්ත භික්ෂුව විසින් (ආචාර්ය ලෙස) නිස නොදිය යුතුයි. දුන්නොත් දුක්කට ඇවැතක් වේ. වස් දහයක් හෝ ඊට වැඩි ව්‍යක්ත ප්‍රතිබල භික්ෂුව විසින් නිස දීමට අනුදැනීම.

24) පෙර අන්‍යතීර්ථකයෙක් (අන්‍යාගමික පූජකයෙක්) වූ භික්ෂුවක් උපාද්ධ්‍යයයා විසින් සිකපදයෙන් අවවාද කරන කල, වාද නඟා ඒ තීර්ථායතනයට ම ගොස් නැවත ආයේද හෙතෙම උපසම්පදා නොකළ යුතුයි.

25) පෙර අන්‍යතීර්ථක වූ යමෙක් මේ සසුනෙහි පැවිදි උපසම්පදා ලැබීමට කැමති වන්නේ නම් ඔහුට මාස 4ක් පිරිවෙස් දිය යුතුය. කර්මවාදීන්, කිරියවාදීන් බැවින් ගිනි පුදන්නන්ටත් ජටාධරයන්ටත් පිරිවෙස් නොදිය යුතුය. උපසම්පදා කළ යුතුය. නෑයන්ට පමණක් උරුම වූ අනුග්‍රහයක් ලෙස පෙර අන්‍යතීර්ථක වූ ශාක්‍ය ජාතිකයනටත් පිරිවෙස් නොදිය යුතුය. උපසම්පදා කළ යුතුය.

26) පඤ්ච අබාධයන්ගෙන් (ලාදුරු, ගණ්ඩ, කිලාස, ක්ෂය රෝගය, අපස්මාරය) පෙළුනෙක් පැවිදි නොකළ යුතුයි. පැවිදි කළොත් දුක්කට ඇවැතක් වේ.

27) රාජභටයා පැවිදි නොකළ යුතුයි. පැවිදි කළොත් දුක්කට ඇවතක් වේ.

28) ප්‍රසිද්ධ සොරා පැවිදි නොකළ යුතුයි. පැවිදි කළොත් දුක්කට ඇවතක් වේ.

29) සිරෙන් පැන ආ සොරා පැවිදි නොකළ යුතුයි. පැවිදි කළොත් දුක්කට ඇවතක් වේ.

30) ලියැවුනු සොරා පැවිදි නොකළ යුතුයි. පැවිදි කළොත් දුක්කට ඇවතක් වේ.

31) කසයෙන් තලා දඬුවම් ලද්දා පැවිදි නොකළ යුතුයි. පැවිදි කළොත් දුක්කට ඇවතක් වේ.

32) හංවඩු ගසා දඬුවම් ලද්දා පැවිදි නොකළ යුතුයි. පැවිදි කළොත් දුක්කට ඇවතක් වේ.

33) ණය ගැතියා පැවිදි නොකළ යුතුයි. පැවිදි කළොත් දුකක්ට ඇවතක් වේ.

34) (පැන ආ) දාසයා පැවිදි නොකළ යුතුයි. පැවිදි කළොත් දුක්කට ඇවතක් වේ.

35) පව්‍රෘජ්‍යාපෙක්ෂකයාගේ හිසකෙස් බෑමට සංඝයා විචාරීමට අනුදැනීම.

36) අවුරුදු විස්සට අඩු පුද්ගලයා උපසපන් නොකළ යුතුයි. කළොත් ඇවැත් පරිදි කළ යුතුයි (පචිති ඇවැතක් වේ).

37) අවුරුදු 15ට අඩු දරු පැවිදි නොකළ යුතුයි. පැවිදි කළොත් දුක්කට ඇවැතක් වේ (පසුව මෙය ලිහිල් කෙරිණ).

38) අවුරුදු 15ට අඩු කපුටන් එලවීමට තරම් හැකියාවක් ඇති දරුවා පැවිදි කිරීමට අනුදැනීම (අසරණ වූ දරු දෙදෙනෙකුට රැකවරණය ලබා දීමට මෙසේ ලිහිල් කරන ලදී).

39) ව්‍යක්ත ප්‍රතිබල භික්ෂුවට අවුරුදු 5ක් නිස යටතේ විසීමටත්, අව්‍යක්ත භික්ෂුවට දිවි තිබෙන තුරු නිස යටතේ විසීමටත් අනුදැනීම.

40) තුන්සරණගමනින් සාමණේර පැවිද්ද අනුදැනීම.

41) මව්පියන් විසින් නො අනුදත් පුතු පැවිදි නොකළ යුතුය. පැවිදි කළොත් දුක්කට ඇවැතක් වේ.

42) ව්‍යකත් ප්‍රතිබල භික්ෂුවට සාමණේරවරු දෙදෙනෙකු තබාගැනීමටත්, යම් පමණ අවවාද අනුශාසනා කළ හැකිද, එපමණ හෝ තබා ගැනීමටත් අනුදැනීම.

43) සාමණේරවරු සඳහා දස ශික්ෂා පද අනුදැනීම.

44) වැරදි පහක් කරන[1] සාමණේර නමට වැළැක්වීමෙන් ("මෙහි නොපැමිණිය යුතුයි" කියා) දඬුවම් කිරීමට අනුදැනීම.

45) සාමණේර නමකට මුළු සංඝාරාමයම වැළැක්වීම නොකළ යුතුයි. වැළැක්වුවොත් දුක්කට ඇවැතක් වේ. යම් තැනක වසයිද යම් තැනකට පෙරලා පැමිණේද, එම ස්ථානය වැළැක්වීමට අනුදැනීම.

46) කටට ආහාර ගැනීම නොවැළැක්විය යුතුයි. කටට ආහාර ගැනීම වැළැක්වුවොත් දුක්කට ඇවැතක් වේ.

47) සාරණේරවරුන්ගේ උපාධ්‍යයායන් නොවිමසා ඔවුන් වැළැක්වීම නොකළ යුතුයි. කළොත් දුක්කට ඇවතක් වේ.

---

[1] භික්ෂූනට අලාභය පිණිස, අනර්ථය පිණිස, නොවිසීම පිණිස උත්සහ කෙරේ. භික්ෂූනට දොස් කියයි. භික්ෂූන් භේද කෙරේ.

48) අන් කෙනෙකුගේ පිරිසක් සංග්‍රහයෙන් තමන් වෙත නතුකර ගැනීමට පෙළඹවීම නොකළ යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ.

49) වැරදි දහයක්[1] කරන සාමණේර, මහණ බවින් දුරු කරන්නට අනුදැනීම.

50-60) පණ්ඩක / ථෙය්‍යසංවාසක / තීර්ථකයන් වෙත ගිය කෙනා / තිරිසන් ගතයා / මාතෘඝාතක / පීතෘඝාතක / අරහන්තඝාතක / භික්ෂුණී දූෂක / සංඝභේදක / බුදුන්ගේ ලේ සෙලවූ කෙනා / උභතොබ්‍යඤ්ජනක උපසම්පදා නොකළ යුතුයි. උපසම්පදා කළේ නම් සිවුරු හැරවිය යුතුය.

61) උපාධ්‍යායයෙකු නැති කෙනා උපසපන් නොකළ යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ.

62-63) සංඝයා / ගණයා උපාධ්‍යාය කොට උපසපන් නොකළ යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ.

64-74) පණ්ඩක / ථෙය්‍යසංවාසක / තීර්ථකයන් වෙත ගිය කෙනා / තිරිසන් ගතයා / මාතෘඝාතක / පීතෘඝාතක / අරහන්තඝාතක / භික්ෂුණී දූෂක / සංඝභේදක / බුදුන්ගේ ලේ සෙලවූ කෙනා / උභතොබ්‍යඤ්ජනක උපාධ්‍යාය කොට උපසපන් නොකළ යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ.

75-80) පාත්‍රය නැති කෙනා / සිවුරු නැති කෙනා / පාත්‍රා සිවුරු නැති කෙනා / ඉල්ලාගත් පාත්‍රා ඇත්තා / ඉල්ලාගත් සිවුරු ඇත්තා / ඉල්ලා ගත් පාත්‍රා සිවුරු ඇත්තා උපසපන් නොකළ යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ.

81-89) කැපූ අත් / පා / අත් පා / කන් / නාස / කන්-නාස / ඇඟිලි / මාපට ඇඟිලි / මහ නහර ඇත්තා පැවිදි නොකළ යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ.

90-112) පෙණය වැනි අත් ඇත්තා / කුදා / වාමනයා / ගලගණ්ඩ රෝගියා / හංවඩු කෙටූ කෙනා / කසයෙන් තලා දඬුවම් ලද්දා / ලියවුනු සොරා / බරවා රෝගියා / පාප රෝග ඇත්තා / පිරිස් දූෂකයා / කණා / අත් පා වක් වූ කෙනා / කොරා / අංශබාග රෝගියා / පිළා / මහලු බවින් දුබල වූවා / අන්ධයා / ගොළුවා / බිහිරා / අන්ධ ගොළුවා / අන්ධ බිහිරා / ගොළු බිහිරා / අඳ ගොළු බිහිරා පැවිදි නොකළ යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ.

---

[1] සතුන් මරයි. සොරකම් කරයි. බ්‍රහ්මචර්යාවක් නැත්තේ වෙයි. බොරු කියයි. මත්පැන් බොයි. බුද්ධ, ධම්ම, සංඝ තෙරුවනේ අගුණ කියයි. මිත්‍යාදෘෂ්ඨික වෙයි. භික්ෂුණී දූෂක වෙයි.

113) අලජ්ජීනට නිස නොදිය යුතුයි. දෙන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

114) අලජ්ජීන්ගෙන් නිස නොගත යුතුයි. ගන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

115) නිස ගැනීමට හෝ දීමට ප්‍රථම දින 4ක් 5ක් පරීක්ෂා කරීමට අනුදැනීම.

116) දුර මඟකට පළිපින්, නිස නොලබන භික්ෂුවට නිස නැතිව වසනන්ට අනුදැනීම.

117) ගිලන් වූ නිස නොලබන භික්ෂුවට නිස නැතිව වසන්නට අනුදැනීම.

118) ගිලන් භික්ෂුව විසින් ඉල්ලන ලදුව ගිලානෝපස්ථායක වූ නිස නොලබන භික්ෂුවට නිස නැතිව වසන්නට අනුදැනීම.

119) කැලයෙහි වසන නිස නොලබන භික්ෂුව ඵාසු විහරණය සළකා 'යම් කලෙක සුදුසු නිස දෙන්නෙක් ආවොත්, ඔහුගේ නිස යටතේ වසමි'යි සිතා නිස නැතිව වසන්නට අනුදැනීම.

120) (උපසම්පදාවේ දී) ගෝත්‍ර නමින් අනුශ්‍රාවණය කිරීමට අනුදැනීම.

121) එකම උපාධ්‍යාය කෙනෙකුගේ දෙතුන් දෙනා එකම අනුශ්‍රාවණයකින් උපසම්පදා කිරීමට අනුදැනීම. වෙනස් උපාධ්‍යායයන්ගේ එසේ උපසම්පදා නොකට යුතුයි.

122) ගැබෙහි පටන් විසිවස් ඇත්තා උපසපන් කිරීමට අනුදැනීම.

123) උපසම්පදාව ලබන්නාගෙන් අන්තරායකර ධර්ම 13 විචාරීමට අනුදැනීම.

124) අන්තරායකර ධර්ම විචාරීමට පෙර අනුශාසනා කිරීමට අනුදැනීම.

125) පසෙකට ගෙන අනුශාසනා කොට සඟ මැද දී අන්තරායකර ධර්ම විචාරීමට අනුදැනීම.

126) අනුවණ අව්‍යක්ත මහණ අනුශාසනා නොකට යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ. ව්‍යක්ත ප්‍රතිබල භික්ෂුවකට අනුශාසනා කිරීමට අනුදැනීම.

127) සංඝයා සම්මත නොකළ භික්ෂුව අනුශාසනා නොකළ යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ. සම්මත කරන ලද භික්ෂුවට අනුශාසනා කිරීමට අනුදැනීම.

128) උපසපන් කොට දෙවැන්නෙකු දෙන්නටද, නොකළ යුතු කරුණු සතර (චත්තාරි අකරණීයානි) කියා දීමටද අනුදැනීම.

## 1 .2 උපොසථක්ඛන්ධකය

1) තුදුස්වක, පසලොස්වක හා අටවක දිනවල සංඝයාට රැස්වන්නට අනුදැනීම.

2) එසේ රැස් වූ කළ දහම් දෙසීමට අනුදැනීම.

3) ප්‍රාතිමෝක්ෂය උදෙසීමට අනුදැනීම.

4) දිනපතා පාමොක් නො උදෙසිය යුතුයි. උදෙසන්නේ නම් දුක්කට ඇවැතක් වේ. පෙහෝ දින පාමොක් උදෙසීමට අනුදැනීම.

5) පක්ෂයකට තෙවරක් පාමොක් නො උදෙසිය යුතුයි. උදෙසන්නේ නම් දුකක්ට අවැතක් වේ. පක්ෂයකට වරක් තුදුස්වක හෝ පසලොස්වක හෝ පාමොක් උදෙසීමට අනුදැනීම.

6) තම තම පිරිස් අනුව පාමොක් නො උදෙසිය යුතුයි. උදෙසන්නේ නම් දුක්කට ඇවැතක් වේ. සමඟි සංඝයාගේ උපෝසථ කර්මය අනුදැනීම.

7) එක්ව විසීම යම්තාක් ද සමඟිය එපමණ යැයි අනුදැනීම.

8) සීමාව සම්මත කිරීමට අනුදැනීම.

9) අති විශාල සීමා සම්මත නොකට යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ. තුන් යොදුන පරම කොට සීමා සම්මත කිරීමට අනුදැනීම.

10) මැදින් නදියක් ගලන සේ සීමාවක් සම්මත නොකළ යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ. නිති ඔරුවක් හෝ නිති පාලමක් ඇත්තේ නම් එවැනි නදියක් යට කොට සීමා සම්මත කිරීමට අනුදැනීම.

11) තැන සළකුණු නොකොට පිරිවෙනක් පාසා පාමොක් නො- උදෙසිය යුතුයි. උදෙසයි නම් දුක්කට ඇවැතක් වේ. උපෝසථාගාරයක් සම්මත කොට පාමොක් උදෙසීමට අනුදැනීම.

12) එක් ආවාසයක උපෝසථාගාර දෙකක් සම්මත නොකට යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ.

13) සංඝයා කැමති තරම් විශාල උපොසථ පමුඛයක් (පාමොක් ඇසීමට බිමක්) සම්මත කර ගැනීමට අනුදැනීම.

14) පොහෝ දින ස්ථවිර භික්ෂූන්ට පළමු කොට රැස්වීමට අනුදැනීම.

15) එකම සීමාවක ආවාස බොහෝ වේ නම් ස්ථවිර භික්ෂුව වෙසෙන ආවාසයට හෝ එකම තැනකට හෝ රැස්වී පොහොය කළ යුතුයි. බෙදී නොකළ යුතුයි. කෙරේ නම් දුක්කට ඇවැතක් වේ.

16) සීමාවෙන් සීමාව නොබිඳිය යුතුයි. යමෙක් බිඳින්නේ නම් දුක්කට ඇවැතක් වේ.

17) සීමාවෙන් සීමාව යටපත් නොකළ යුතුයි. යටපත් කරන්නේ නම් දුක්කට ඇවැතක් වේ. සීමා සම්මත කිරීමේ දී අතරක් තබා සම්මත කිරීමට අනුදැනීම.

18) අන්තරායක් ඇති විට සැකෙවින් පාමොක් උදෙසීමට අනුදැනීම.

19) අන්තරායක් නැති විට සැකෙවින් පාමොක් නො උදෙසිය යුතුයි. උදෙසයි නම් දුක්කට ඇවැතක් වේ. අන්තරායක් නැති විට විස්තර වශයෙන් උදෙසන්නට අනුදැනීම.

20) සංඝයා මැද අසම්මතව විනය නොවිචාළ යුතුයි. විචාරන්නේ නම් දුක්කට ඇවැතක් වේ. සම්මත කරන ලද්දහු විසින් විචාරන්නට අනුදැනීම.

21) සම්මතය ලද්දහු විසින්ද පිරිස බලා පුද්ගලයාගේ පමණ සළකා සඟ මැද විනය විචාරන්නට අනුදැනීම.

22) සඟ මැද අසම්මතව විනය නොවිසඳිය යුතුයි. යමෙක් විසඳන්නේ නම් දුක්කට ඇවැතක් වේ. සම්මත කරන ලද්දහු විසින් විනය විසඳීමට අනුදැනීම.

23) සම්මතය ලද්දහු විසින්ද පිරිස බලා පුද්ගලයාගේ පමණ සළකා සඟ මැද විනය විසඳීමට අනුදැනීම.

24) අවකාශ කරවා නොගෙන භික්ෂුවකට ඇවැතින් චෝදනා නොකළ යුතුයි. යමෙක් කරයි නම් දුක්කට ඇවැතක් වේ. අවකාශ කරවා චෝදනා කිරීමට අනුදැනීම.

25) අවසර දුන් කල්හිද පුද්ගලයා සළකා චෝදනා කිරීමට අනුදැනීම.

26) ඇවැත් රහිත පිරිසිදු භික්ෂූන්ට හේතුවක් නැතිව නිකරුණේ චෝදනා කිරීමට අවකාශ නො කරවිය යුතුයි. කරන්නේ නම් දුකක්ට ඇවැතක් වේ. පුද්ගලයා සළකා අවකාශ කරවීමට අනුදැනීම.

27) අධර්මකර්ම නොකළ යුතුයි. කරන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

28) අධර්මකර්ම කරණ කල්හි වළකාලන්නට අනුදැනීම.

29) හතර පස් දෙනෙක් වළකාලන්නටත්, දෙතුන් දෙනෙකුට දෘෂ්ඨිය ප්‍රකාශ කිරීමටත්, තනි පුද්ගලයාට 'මෙය මට රුචි නොවේ' යැයි ඉටන්නටත් අනුදැනීම.

30) පාමොක් දෙසන්නා විසින් සිතාමතා නො ඇස්වීම නොකළ යුතුයි. නො අසවන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

31) පාමොක් දෙසන්නා 'කෙසේ අස්වන්නෙම් දැයි' ඒ සඳහා උත්සහ කළ යුතුයි. උත්සහ කරන්නාට ඇවැත් නොවේ.

32) ගිහියන් සහිත පිරිසෙහි පාමොක් නො උදෙසයි යුතුයි. උදෙසනනේ නම් දුක්කට ඇවැතක් වේ.

33) ආරාධනා නොලැබුවහු සඟ මැද පාමොක් නො උදෙසිය යුතුයි. උදෙසයි නම් දුකක්ට ඇවැතක් වේ. පාමොක් උදෙසීම සථ්විරයන්ට අයත් යැයි අනුදැනීම.

34) ස්ථවිරයන් බාල අව්‍යක්ත නම් එහි සිටින ව්‍යක්ත ප්‍රතිබල භික්ෂුවට පාමොක් උදෙසීම අයත් යැයි අනුදැනීම.

35) සියළු භික්ෂූන් පාමොක් නොදනී නම් පාමොක් ඉගෙන ඒමට නවක භික්ෂුවකට අණ කිරීමට ස්ථවිර භික්ෂුවට අනුදැනීම.

36) තෙරුන් විසින් අණවන ලද කල්හි නොගිලන්ව නොයා යුතු නොවේ. නොයයි නම් දුක්කට ඇවැතක් වේ.

37) පක්ෂ ගිණීම ඉගෙනීමට අනුදැනීම.

38) සියල්ලන්ට ම පක්ෂ ගිණීමට ඉගෙනීමට අනුදැනීම.

39) පොහොය දින භික්ෂූන් ගණන් කිරීමට අනුදැනීම.

40) ස්ථවිර භික්ෂුව විසින් කල් ඇතිව අද උපෝසථය යැයි දන්වීමට අනුදැනීම.

41) කල් ඇතිව කීමට අමතක වුවහොත් දන් වේලේ හෝ සිහි වූ විට හෝ කීමට අනුදැනීම.

42) උපෝසථාගාරය ඇමදීමට නවක භික්ෂුවකට අණ කිරීමට ස්ථවිර භික්ෂුවට අනුදැනීම.

43) ස්ථවිර භික්ෂුව අණවන ලද කල්හි නොගිලන් මහණහු නො හමදින්නේ නම් දුක්කට ඇවැතක් වේ.

44) පොහොය ගෙයි අසුන් පැනවීමට නවක භික්ෂූන්ට අණ කිරීමට ස්ථවිර භික්ෂුවට අනුදැනීම.

45) තෙරුන් අණවන කල්හි නොගිලන් මහණහු අසුන් නොපණවයි නම් දුක්කට ඇවැතක් වේ.

46) පොහොය ගෙයි පහන් දල්වීමට නවක භික්ෂූන්ට අණ කිරීමට ස්ථවිර භික්ෂුවට අනුදැනීම.

47) තෙරුන් අණවන කල්හි නොගිලන් මහණහු පහන් නොදල්වයි නම් දුක්කට ඇවැතක් වේ.

48) පැන් හා පරිභෝග දිය තැබීමට නවක භික්ෂූන්ට අණ කිරීමට ස්ථවිර භික්ෂුවට අනුදැනීම.

49) තෙරුන් අණවන කල්හි නොගිලන් මහණහු පැන් දිය නොතබා නම් දුක්කට ඇවැතක් වේ.

50) ගමන් යන අනුවණ අව්‍යක්ත භික්ෂූන්ගෙන් කොහි යන්නේද? කා සමඟින් යන්නේ දැයි ආචාර්ය/උපාධ්‍යාය විමසයි යුතුයි. වෙනත් අනුවණ අව්‍යක්ත භික්ෂූන් පෙන්වුවහොත් අවසර නොදිය යුතුයි. අවසර දේ නම් දුක්කට ඇවැතක් වේ. ආචාර්ය/ උපාධ්‍යායයන් නොවිමසා පිටත්වයන බාල අව්‍යක්ත භික්ෂූන්ටත් දුක්කට ඇවැත් වේ.

51) උපෝසථය හෝ උපෝසථකර්මය හෝ පාමොක් හෝ පාමොක් උදෙසීම හෝ නොදන්නා බාල අව්‍යක්ත භික්ෂූන් සිටින ආරාමයකට ශික්ෂාකාමී ව්‍යක්ත ප්‍රතිබල භික්ෂුවක් පැමිණියහොත් හොඳින් සංග්‍රහ කළ යුතුයි. අනුග්‍රහ කළ යුතුයි. නතර කර ගැනීමට වැයම් කළ යුතුයි. එසේ නොකරන්නේ නම් ඔවුන්ට දුක්කට ඇවැතක් වේ.

52) උපෝසථය හෝ උපෝසථකර්මය හෝ පාමොක් හෝ පාමොක් දෙසීම හෝ නොදන්නා බාල අව්‍යක්ත භික්‍ෂූන් සිටින ආරාමයක පොහෝ දින, පාමොක් ඉගෙන එදිනම නැවත පැමිණීමට අසල ආවාසයකට භික්‍ෂුවක් යැවිය යුතුයි. එසේ නොලැබේ නම් පාමොක් උදෙසන ආවාසයකට සියළු දෙනා යා යුතුයි. නොගියොත් දුකක්ට ඇවැතක් වේ.

53) යම් ආවාසයක සිටින භික්‍ෂූන් උපෝසථය හෝ උපෝසථ කර්මය හෝ පාමොක් හෝ පාමොක් උදෙසීම නොදනී නම් දින හතක් තුල පාමොක් ඉගෙන ඒමට භික්‍ෂුවක් යැවිය යුතුයි. එසේ නොලැබේ නම් එහි වස් නොවිසිය යුතුයි. වස් වසන්නේ නම් දුකක්ට ඇවැතක් වේ.

54) ගිලන් භික්‍ෂුවට පාරිශුද්ධිය දීමට අනුදැනීම. පාරිශුදධිය දිය නොහැකි නම් පුටුවක හෝ ඇඳක තබා සඟ මැදට ගෙන ආ යුතුයි. එයද නොලැබේ නම් සියල්ලන් ගිලන් භික්‍ෂුව වෙත යා යුතුයි. වර්ගව පොහොය නොකළ යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ.

55) ගිලන් භික්‍ෂුවට ඡන්දය දීමට අනුදැනීම. ඡන්දය දිය නොහැකි නම් පුටුවක හෝ ඇඳක තබා සඟ මැදට ගෙන ආ යුතුයි. එයද නොලැබේ නම් සියල්ලන් ගිලන් භික්‍ෂුව වෙත යා යුතුයි. වර්ගව සංඝකර්ම නොකළ යුතුමය. කළොත් දුක්කට ඇවැතක් වේ.

56) පාරිශුද්ධිය ගෙනෙන භික්‍ෂුව සඟ මැදට පැමිණ සිතාමතාම නො සැළ කෙරේ නම් ඔහුට දුක්කට ඇවැතක් වේ. පාරිශුද්ධිය ගෙනෙන ලද්දේම වෙයි.

57) ඡන්දය ගෙනෙන භික්‍ෂුව සඟ මැදට පැමිණ සිතාමතාම නො සැළ කෙරේ නම් ඔහුට දුක්කට ඇවැතක් වේ. ඡන්දය ගෙනෙන ලද්දේම වෙයි.

58) පොහෝ දින පාරිශුද්ධිය දෙන්නහු විසින් ඡන්දය දීමටද අනුදැනීම.

59) උමතු භික්‍ෂුවට උම්මත්තක සම්මුතිය දීමට අනුදැනීම.

60) සතර නමකට පාමොක් උදෙසීම අනුදැනීම.

61) භික්‍ෂන් දෙනමකට හා තුන්නමකට පාරිශුද්ධි උපොසථය අනුදැනීම.

62) එක් භික්‍ෂුවකට පෝය අධිෂ්ඨාන කිරීමට අනුදැනීම. අධිෂ්ඨාන නොකළොත් දුක්කට ඇවැතක් වේ.

63) සතර නමක් වෙසෙන තැන එක් භික්ෂුවකගේ පාරිශුද්ධිය ගෙනවිත් තෙනමක් පාමොක් නො උදෙසිය යුතුයි. උදෙසුවොත් දුක්කට ඇවැතක් වේ.

64) තුන් නමක් වෙසෙන තැන එක් භික්ෂුවකගේ පාරිශුද්ධිය ගෙනවිත් දෙනමක් පාරිශුද්ධි උපෝසථය නොකළ යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ.

65) දෙනමක් වෙසෙන තැන එක් අයෙකුගේ පාරිශුද්ධිය ගෙනවිත් අනෙක් නම අධිෂ්ඨාන නොකළ යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ.

66) ඇවැත් සහිත මහණ පොහොය නොකට යුතුයි.

67) සභාග ආපත්ති නො දෙසිය යුතුයි. දෙසුවොත් දුක්කට ඇවැතක් වේ.

68) සභාග ආපත්ති නොපිළිගත යුතුයි. පිළිගතහොත් දුක්කට ඇවැතක් වේ.

69) ධර්ම සඤ්ඤීව, විනය සඤ්ඤීව (කැප යැයි සිතා) වර්ගව වර්ග සඤ්ඤීව පොහොය කළොත් දුක්කට ඇවැතක් වේ.

70) 'කැපද? නැදද්?' යැයි විමති ඇතිව වර්ගව වර්ගසඤ්ඤීව පොහොය කළොත් දුක්කට ඇවැතක් වේ.

71) 'කැපම තමයි' යැයි කුකුසින් යුතුව වර්ගව වර්ගසඤ්ඤීව පොහොය කළොත් දුක්කට ඇවැතක් වේ.

72) භේදවීම පෙරදැරි කොට වර්ගව වර්ගසඤ්ඤීව පොහොය කළොත් ථුල්ලච්චය ඇවැතක් වේ.

73) ආගන්තුක හෝ ආවාසික භික්ෂූන්ගේ සළකුණු දැක ඔවුන් සොයා නොබලා වෙන්ව පොහොය කළොත් දුක්කට ඇවැතක් වේ. සොයා බලා නොදැක වෙන්ව පොහොය කළාට ඇවැත් නැත.

74) සමානසංවාසක හෝ නානාසංවාසක භික්ෂූන් කෙරෙහි නානාසංවාසක දෘෂ්ඨිය ඇතිව එකට පොහොය කළොත් දුක්කට ඇවැතක් වේ. සමානසංවාසක දෘෂ්ඨිය ඇතිව කළේ නම් ඇවැත් නැත.

75) පොහොය දින භික්ෂූන් සහිත ආවාසයෙන් හෝ අනාවාසයෙන් හෝ භික්ෂූන් රහිත ආවාසයකට හෝ අනාවාසයකට හෝ සංඝයාගෙන් තොරව, අනතුරක් නොමැති කල නොයා යුතුයි.

76) පොහොය දින භික්ෂූන් සහිත අවාසයෙන් හෝ අනාවාසයෙන් හෝ නානාසංවාසක භික්ෂූන් සහිත ආවාසයකට හෝ අනාවාසයකට හෝ

සංඝයාගෙන් තොරව, අනතුරක් නොමැති කල නොයා යුතුයි. අදම යා හැකි බව දන්නේ නම් සමානසංවාසක භික්ෂූන් සිටින ආවාසයකට හෝ අනාවාසයකට හෝ ගිය හැක.

77) භික්ෂුණියක්, සික්ඛමානාවක්, හෙරණක්, හෙරණියක්, ශික්ෂාව ප්‍රතික්ෂේප කළ කෙනෙකු, පරිජි වූවෙකු, (ත්‍රිවිධ වූ) උක්ෂේපණිය කරන ලද්දෙකු, පණ්ඩකයෙකු, ථෙය්‍යසංවාසකයෙකු, තීර්ථකයන් වෙත ගිය කෙනෙකු, තිරිසන් ගත කෙනෙකු, මවු මැරූවෙකු, පියා මැරූවෙකු, රහතුන් මැරූවෙකු, භික්ෂුණී දූෂකයෙකු, සංඝභේදකයෙකු, බුදුන්ගේ ලේ සෙලවූවෙකු, උභතොබ්‍යඤ්ජනයෙකු හුන් පිරිසෙහි පාමොක් නො උදෙසිය යුතුයි. උදෙසුවොත් දුක්කට ඇවැතක් වේ.

78) පිරිස නැඟී ගිය අවස්ථාවක හැර පිරිවෙස් පුරන්නා පාරිශුද්ධිය දීමෙන් පොහොය නොකට යුතුයි.

79) සාමග්‍රී උපෝසථය හැර පොහොය නොවන දිනෙක පොහොය නොකට යුතුයි.

## 1 .3 වස්සූපනායිකක්ඛන්ධකය

1) වස්සාන ඍතුවෙහි වස් එළඹීමට අනුදැනීම.

2) වස් වැස, තෙමස තුල චාරිකාවේ ගියොත් දුක්කට ඇවැතක් වේ.

3) වස් නො එළඹියොත් දුක්කට ඇවැතක් වේ.

4) වස් එළඹෙන දින වස් නො එළඹනු කැමතිව දැන දැන ආවාසය මඟහැර සිටියොත් දුක්කට ඇවැතක් වේ.

5) වස් එළඹෙන දිනය රාජ නියමයට අනුව පවතින්නට (තීරණය කිරීමට) අනුදැනීම.

6) සත් දෙනෙකුන් (භික්ෂුව, භික්ෂුණිය, සික්ඛමානාව, හෙරණ, හෙරණි, මව, පියා) වෙත පණිවුඩයක් නොඑවූ කල්හිත් සත්තාහකරණියෙන් යාමට අනුදැනීම. සත් දිනක් තුල නැවත පැමිණිය යුතුයි.

7) උපාසක, උපාසිකාව, සොයුරා, සොයුරිය, ඥාතියා, කැපකරු යන අය වෙත 'එන්න'යැයි පණිවුඩයක් එවූ කල්හි සත්තාහකරණීයෙන් යැමට අනුදැනීම. සත් දිනක් තුල නැවත පැමිණිය යුතුයි.

8) සංඝයා පිළිබඳ කරුණක් නිසා යන්නට අනුදැනීම. සත් දිනක් තුල නැවත පැමිණිය යුතුයි.

9) වස් එළඹි භික්ෂූන්ට චණ්ඩ සතුන්ගෙන්, සර්පයන්ගෙන්, සොරුන්ගෙන්, අමනුෂ්‍යයන්ගෙන් පීඩා පැමිණි කල 'අනතුරකැ'යි බැහැර යා යුතුය. වස් සිඳීමෙන් ඇවැත් නැත.

10) ගම ගින්නෙන් හෝ ජල ගැලීමෙන් හෝ විනාශ වූයේ නම්, ආහාරයෙන් ක්ලාන්ත වේ නම් 'අනතුරකැ'යි වස් සිඳීමෙන් ඇවැත් නැත.

11) සෙනසුන ගින්නෙන් හෝ ජල ගැල්මෙන් විනාශ වූ කල සෙනසුනෙන් ක්ලාන්ත වේ නම් 'අනතුරකැ'යි වස් සිඳීමෙන් ඇවැත් නැත.

12) සොර උවදුරෙන් ගම අවතැන් වූ කල ගම පිහිටි තැනට යාමට අනුදැනීම. ගම දෙකට බෙදුනු කල්හි බහුතරය සිටින තැනට හෝ සැදැහැති මිනිසුන් ඇති තැනට යන්නට අනුදැනීම.

13) සෑහෙන පමණ ආහාර නොලැබේ නම්, සප්පාය ආහාර නොලැබේ නම්, සප්පාය බෙහෙත් නොලැබේ නම්, ගැලපෙන උපස්ථායකයෙක් නොලැබේ නම් 'අනතුරකැ'යි වස් සිඳීමෙන් ඇවැත් නැත.

14) වස් එළඹි භික්ෂුවකට ස්ත්‍රියක් හෝ ගණිකාවක් හෝ වැඩිහිටි අවිවාහක කතක් හෝ පණ්ඩකයෙක් හෝ ඥාතීන් හෝ රජු හෝ සොරු හෝ ධූර්තයො හෝ නිමන්ත්‍රනය කෙරේ නම්, හිමියන් නැති නිධානයක් හෝ දකී නම් 'සිත වහා පෙරලෙන සුළුය. බ්‍රහ්මචර්යාවට අනතුරකි'යි කියා යා යුතුය. වස් සිඳීමෙන් ඇවැත් නොවේ.

15) සංඝභේදය පිණිස උත්සහ කෙරෙන බොහෝ භික්ෂූන් දකීනම් හෝ වෙන ආවාසයක එවැන්නක් කරනවා හෝ අසා නම්, 'මා හමුවේ සංඝයා නොබිඳේවා'යි යා යුතුයි. වස් සිඳීමෙන් ඇවැත් නොවේ.

16) අසවල් ආවාසයේ භික්ෂූන් හෝ භික්ෂුණීන් සංඝභේදයට උත්සහ කෙරේ යැයි අසයි. ඔවුන් මාගේ මිතුරන්ය, නැති නම් ඔවුන් මාගේ මිතුරන්ගේ මිතුරන්ය, මට හෝ මාගේ මිතුරන් ලවා හෝ එම සංඝභේදය වැළැක්විය හැකි යැයි දනී නම් ඒ සඳහා යා යුතුය. වස් සිඳීමෙන් ඇවැත් නොවේ.

17) අහවල් ආවාසයේ බොහෝ භික්ෂූන් හෝ භික්ෂුණීන් විසින් භික්ෂු හෝ භික්ෂුණී සාංඝයා බිඳින ලදැයි අසයි. ඔවුන් මාගේ මිතුරන්ය, නැතිනම් මිතුරන්ගේ මිතුරන්ය, මට හෝ මාගේ මිතුරන් ලවා හෝ සමගි කරවිය හැකි යැයි දනී නම් ඒ සඳහා යා යුතුය. වස් සිඳීමෙන් ඇවැත් නොවේ.

18) ගාලෙහි වස් එළඹීමටත්, ගාල යන තැනට යාමටත් අනුදැනීම.

19) ගැල් සාත්තුවේ හෝ නැවේ හෝ වස් එළඹීමට අනුදැනීම.

20) රුක් සිදුරේ, රුක් ගොමුවේ, එළිමහනෙහි, සෙනසුන් නොමැතිව, සොහොන් කිළියෙහි, කුඩයක් යට (කුඩාරමේ), සැළියෙහි වස් නො එළඹිය යුතුයි. එළඹෙන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

21) 'වස් කාලය තුල කිසිවෙක් පැවිදි නොකරන්නේමු'යි කතිකා නොකට යුතුයි. කළ හොත් දුක්කට ඇවැතක් වේ.

22) පෙරවස් ආරාධනය පිළිගත් භික්ෂුවක් එම ආවාසයට යන අතර මඟ වෙන තැනක වස් එළඹේ නම් ඔහුගේ පෙරවසද නොපෙනේ. පොරොන්දු කඩ කිරීමේ දුක්කට ඇවැතක්ද වේ.

23) පෙර වස් හෝ පසුවස් ආරාධනා පිළිගත් භික්ෂුවක් වස් එළඹෙන පෑලවිය විහාරයට ගොස් සෙනසුන් පනවා කරුණක් ඇතිව හෝ නැතිව, එදිනම හෝ දෙතුන් දිනක් වැස හෝ යන්නට යයි නම්,

සතත්‍රාහකරණීයෙන් ගොස් සත් දිනක් බැහැරදී ඉක්මවයිනම් ඔහුගේ වසද නොපෙනේ. පොරොන්දු කඩ කිරීමෙන් දුක්කට ඇවැතක් ද වේ. සත්දිනක් තුල පැමිණේ නම් වසද පෙනේ. ඇවැතක්ද නොවේ.

24) පෙරවස් හෝ පසුවස් ආරාධනයක් පිළිගත් භික්‍ෂුවක් වස් එළඹ පවාරණ පොහොය දිනයට සතියක් තිබියදී කරුණක් ඇති කල්හි පිටව යයි. ඒ භික්‍ෂුව නැවත එම විහාරයට ආවත් නැතත් වසද පෙනේ. ඇවැතක්ද නොවේ.

## 1 .4 පවාරණක්ඛන්ධකය

1) අන්‍යතීර්ථක සමාදන් වීමක් වූ කතා නොකර සිටීමේ ගොළුවත සමාදන් නොවිය යුතුයි. සමාදන් වුවහොත් දුක්කට ඇවැතක් වේ. වස් විසූ භික්ෂූන්ට ඇසීමෙන්, දැකීමෙන්, සැක කිරීමෙන් යන තුන් තැනින් පැවැරීමට අනුදැනීම.

2) ස්ථවිර භික්ෂූන් උක්කුටියෙන් හිඳ පවාරණය කරන කල අසුන් වල නොහිඳිය යුතුයි. හිඳින්නේ නම් දුක්කට ඇවැතක් වේ.

3) යම්තාක් කල් තෙමේ පවරාද, ඒ තාක් උක්කුටියෙන් හිඳීමටත්, පවාරණය කොට අසුනෙහි හිඳින්නටත් අනුදැනීම.

4) පවාරණයට පැමිණිය නොහැකි ගිලනට පවාරණය දීමට අනුදැනීම. පවාරණය දිය නොහැකි නම් පුටුවක හෝ ඇඳක තබා සඟ මැදට ගෙන ආ යුතුයි. එයද නොලැබේ නම් සියල්ලන් ගිලන් භික්ෂුව වෙත යා යුතුයි. වර්ගව සංඝයා නොපැවරිය යුතුය. පවරන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

5) පවාරණය ගෙනෙන භික්ෂුව සඟ මැදට පැමිණ සිතාමතා ම නොසැළකෙරේ නම් ඔහුට දුක්කට ඇවැතක් වේ. පවාරණය ගෙනෙන ලද්දේම වෙයි.

6) පවාරණ දිනයෙහි පවාරණය දෙන භික්ෂුව විසින් ඡන්දය දීමටද අනුදැනීම.

7) භික්ෂූන් පස්නමකට සංඝයා වෙත පවරන්නට අනුදැනීම.

8) භික්ෂූන් 4ක් 3ක් හෝ 2ක් සිටීනම් උනුන් පවරන්නට අනුදැනීම.

9) තනි භික්ෂුවට පවාරණය අධිෂ්ඨාන කිරීමට අනුදැනීම. අධිෂ්ඨාන නොකළොත් දුක්කට ඇවැතක් වේ.

10) පස් නමක් වසන තැන එක් අයෙකුගේ පවාරණය ගෙනවිත් හතර නමක් සංඝයා වෙත නොපැවරිය යුතුයි. පැවැරුවොත් දුක්කට ඇවැතක් වේ.

11) සතර හෝ තුන් නමක් වසන තැන එක් අයෙකුගේ පවාරණය ගෙනවිත් ඉතිරි අය උනුන් නොපැවරිය යුතුයි. පැවැරුවොත් දුක්කට ඇවැතක් වේ.

12) දෙනමක් සිටින තැන එක් අයෙකුගේ පවාරණය ගෙනැවිත් අනෙක් නම අධිෂ්ඨාන නොකළ යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ.

13) ඇවැත් සහිත මහණ නොපැවැරිය යුතුයි.

14) ධර්මසඤ්ඤීව විනයසඤ්ඤීව (කැප යැයි සිතා) වර්ගව වර්ග-සඤ්ඤීව පවාරණය කළොත් දුක්කට ඇවැතක් වේ.

15) 'කැපද? නැද්ද?' යැයි විමති ඇතිව වර්ගව වර්ගසඤ්ඤීව පවාරණය කළොත් දුක්කට ඇවැතක් වේ.

16) 'කැපම තමයි' යයි කුකුසින් යුතුව වර්ගව වර්ගසඤ්ඤීව පවාරණය කළොත් දුක්කට ඇවැතක් වේ.

17) භේදවීම පෙරදැරි කොට වර්ගව වර්ගසඤ්ඤීව පවාරණය කළොත් ථුල්ලච්චය ඇවැතක් වේ.

18) ආගන්තුක හෝ ආවාසික හෝ භික්ෂූන්ගේ සලකුණු දැක ඔවුන් සොයා නොබලා වෙන්ව පවාරණය කළොත් දුක්කට ඇවැතක් වේ. සොයා බලා නොදැක වෙන්ව පවාරණය කළාට ඇවැතක් නොවේ.

19) සමානසංවාසක හෝ නානාසංවාසක භික්ෂූන් කෙරෙහි නානාසංවාසක දෘෂ්ඨිය ඇතිව එකට පවාරණය කළොත් දුකක්ට ඇවැතක් වේ. සමානසංවාසක දෘෂ්ඨිය ඇතිව කළේ නම් ඇවැත් නොවේ.

20) පවාරණ දින භික්ෂූන් සහිත ආවාසයෙන් හෝ අනාවාසයෙන් භික්ෂූන් රහිත ආවාසයකට හෝ අනාවාසයකට සංඝයාගෙන් තොරව, අනතුරක් නොමැති කල නොයා යුතුයි.

21) පවාරණ දින භික්ෂූන් සහිත ආවාසයෙන් හෝ අනාවාසයෙන් නානාසංවාසක භික්ෂූන් සහිත ආවාසයකට හෝ අනාවාසයකට සංඝයාගෙන් තොරව, අනතුරක් නොමැති කළ නොයා යුතුයි. අදම යා හැකි බව දන්නේ නම් සමානසංවාසක භික්ෂූන් සිටින ආවාසයකට හෝ අනාවාසයකට හෝ ගිය හැක.

22) භික්ෂුණියක්, සික්ඛමානාවක්, හෙරණක්, හෙරණියක්, ශික්ෂාව ප්‍රතික්ෂේප කළ කෙනෙකු, පරිජි වූවෙකු, (ත්‍රිවිධ වූ) උක්ෂේපණිය කරන ලද්දෙකු, පණ්ඩකයෙකු, ථෙය්‍යසංවාසකයෙකු, තීර්ථකයන් වෙත ගිය කෙනෙකු, තිරිසන් ගත කෙනෙකු, මව මැරූවෙකු, පියා මැරූවෙකු, රහතුන් මැරූවෙකු, භික්ෂුණීදූෂකයෙකු, සංඝභේදකයෙකු, බුදුන්ගේ ලේ සෙලවූවෙකු, උභතෝබ්‍යඤ්ජනයෙකු හුන් පිරිසෙහි නොපැවැරිය යුතුයි. පැවැරූවොත් දුක්කට ඇවැතක් වේ.

23) පිරිස නැඟී ගිය අවස්ථාවක හැර පිරිවෙස් පුරන්නා පවාරණය දීමෙන් නොපැවරිය යුතුයි.

24) සංඝ සාමග්ගියේදී හැර පවාරණය නොවන දිනෙක නොපැවැරිය යුතුයි.

25) මිනිසුන් දානයක් දීම නිසා හෝ දහම් දෙසීම නිසා හෝ සූත්‍ර සංඝායනාවක් නිසා හෝ විනය විසඳීම නිසා හෝ ධර්ම සාකච්ඡාවක් නිසා හෝ කලහයක් නිසා හෝ රාත්‍රිය බොහෝ ඉක්ම යෑම හේතුවෙන්, එසේත් නැතිනම් අනතුරක් නිසා හෝ වර්ශාවක් ඇති වන්නේ නම් හා නොතෙමෙන තැන් අඩුනම් දෙවරක් කීමෙන් හෝ එක් වරක් කීමෙන් හෝ සමාන වස් ඇතත්න් එකතුව කීමෙන් හෝ පවරන්නට අනුදැනීම.

26) ඇවැත් සහිතයා නොපැවරිය යුතුයි. පැවැරුවහොත් දුකක්ට ඇවැතක් වේ. ඇවැත් සහිතයා පැවැරුවොත් අවකාශ කරවා ඇවැතින් චෝදනා කිරීමට අනුදැනීම.

27) අවකාශ නොකරන්නාගේ පවාරණය නැවැත්වීමට ('ඨපනං') අනුදැනීම.

28) වස්තුවක් නොමැතිව, කරුණක් නොමැතිව ඇවැත් රහිත පිරිසිදු භික්ෂුවගේ පවාරණය නොනැවැත්විය යුතුය. නැවතුවොත් දුක්කට ඇවැතක් වේ.

29) පවාරණය කර අවසන් කළ භික්ෂුවකගේ පවාරණය නොනැවැත්විය යුතුය. නැවතුවොත් දුක්කට ඇවැතක් වේ.

30) වස් කාලය තුල සංඝයා පහසු විහරණයක් ලැබුයේ නම්, කැමැත්තේ නම් පවාරණය මසකින් කල්තැබීමට ඇනුදැනීම ('පවාරණාසඞගහං).

## 1 .5 චම්මක්ඛන්ධකය

1) එක් පටක් ඇති පාවහන් අනුදැනීම. දෙපටක් හෝ ඊට වැඩි පට ඇති පාවහන් දැරුවොත් දුක්කට ඇවැතක් වේ.

2) සම්පූර්ණයෙන්ම නිල්, කහ, රතු, තැඹිලි, කළු, රත්වැපිට පැහැ, මිශ්‍ර පැහැ පාවහන් දැරුවොත් දුක්කට ඇවැතක් වේ.

3) නිල්, කහ, රතු, තැඹිලි, කළු, රත් වැපිට පැහැ, මිශ්‍ර පැහැ වරපට ඇති වහන් දැරුවොත් දුක්කට ඇවැතක් වේ.

4) විළුඹ වසාලන, කෙණ්ඩය වසාලන, පිටිපා වසාලන, පුළුන් පිරවූ, තිත්වටු පියාපතින් පිරියම් කළ, බැටළු අං වැනි සටහන් ඇති වර යෙදූ, එළු අං වැනි සටහන් ඇති වර යෙදූ, ගොනුසු නඟුටු ආකාරයෙන් යුත් වර යෙදූ, මොනර පිල් වලින් කළ හා විසිතුරු වූ පාවහන් නොදැරිය යුතුයි. දරා නම් දුක්කට ඇවැතක් වේ.

5) සිංහ, ව්‍යාඝ්‍ර, කොටි, අඳුන් දිවි, දියබලු, බළල්, ලේන, බකමූණු යන සතුන්ගේ සම් වටේ යොදා කළ වහන් දැරුවොත් දුක්කට ඇවැතක් වේ.

6) පාවිච්චි කර බැහැර ලූ පට බොහෝ ඇති වහන් අනුදැනීම. පට බොහෝ ඇති අළුත් වහන් නොදැරිය යුතුයි. දරා නම් දුක්කට ඇවැතක් වේ.

7) ආචාර්ය හෝ ආචාර්ය සමාන හෝ උපාධ්‍යාය හෝ උපාධ්‍යාය සමාන හෝ වූවන් වහන් රහිතව සක්මන් කරන කල යමෙක් වහන් දරා සක්මන් කෙරේ නම් දුක්කට ඇවැතක් වේ.

8) ආරාමය තුල පාවහන් දැරීමට, ගිනිහුලක් (අද විදුලිපන්දමක්), පහනක් (අද විදුලිපහනක්), සැරයටියක් දැරීමට අනුදැනීම.

9) එක් තැනක ස්ථිරව පිහිටි, තැන තැන ගෙන යා නොහැකි වැසිකිළි පාදුකා, කැසිකිළි පාදුකා හා දියෙන් සෝදන තැන පාදුකා යන තුන හැර, පැළඳ යා හැකි සියළු පාදුකා නොදැරිය යුතුයි. දරා නම් දුක්කට ඇවැතක් වේ.

10) එළ දෙනගේ අං වලින්, කන් වලින්, බෙල්ලෙන්, නඟුටෙන් අල්ලා නොගත යුතුයි. පිටට නොනැංග යුතුයි. නැගින්නේ නම් දුක්කට ඇවැතක් වේ. රාගයෙන් උන්ගේ අංගජාතය ස්පර්ශ නොකළ යුතුයි. කළොත් ථුල්ලච්චය ඇවැතක් වේ.

11) (සතුන් යෙදූ) යානයෙන් නොයා යුතුයි. යා නම් දුක්කට ඇවැතක් වේ.

12) ගිලනට පිරිමි සතුන් යෙදූ යානය හා අතින් අදින යානය අනුදැනීම.

13) ගිලනට දෝලාවත් පල්ලැක්කියත් අනුදැනීම.

14) උස් සයන, මහා සයන (සුඛෝපභෝගී ඇඳ පුටු) නොදැරිය යුතුයි. භාවිතා කරන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

15) කවර හෝ සතෙකුගේ සමක් භාවිතා නොකළ යුතුයි. කෙරේ නම් දුක්කට ඇවැතක් වේ.

16) (සම් ආදිය යෙදූ හෝ විසිතුරු) ගිහියන් සතු ඇඳ පුටුවල හිඳිනන්ටත් ඒවායේ නොනිදන්නටත් අනුදැනීම.

17) සම්වැටියෙන් වෙළා බඳිනු ලැබූ විහාර වල හිඳ ගැනීමට අනුදැනීම.

18) ගිලනා හැර නොගිලනා පාවහන් දරා ගමට නොපිවිසිය යුතුයි. යමෙක් පිවිසේ නම් දුක්කට ඇවැතක් වේ.

⋆ මහා කච්චායන ස්වාමීන්වහන්සේගේ ඉල්ලීම පිට සිදු කල අනුදැන වැදෑරීම් පහ

19) ප්‍රත්‍යන්ත ජනපදයන්හි විනයධරයා පස්වැනි කොට ඇති භික්ෂු සංඝයා විසින් උපසපන් කිරීම අනුදැනීම.

20) ප්‍රත්‍යන්ත ජනපදයන්හි පට බොහෝ ඇති වහන් අනුදැනීම.

21) ප්‍රත්‍යන්ත ජනපදයන්හි නිතර නෑම අනුදැනීම.

22) ප්‍රත්‍යන්ත ජනපදයන්හි එළු, බැටළු හා මුව සම් භාවිතා කිරීමට අනුදැනීම.

23) සීමාවෙන් බැහැර ගිය භික්ෂුව සඳහා මිනිසුන් දෙන සිවුර පිළිගැනීමටත්, එය එම භික්ෂුවගේ අතට පත් වන තෙක් ගිණීමට නොඑන බවත් අනුදැනීම (දින දහයකට වඩා තැබිය හැක).

## 1 .6 භේසජ්ජක්ඛන්ධකය

1) පස් බෙහෙත් (ගිතෙල්, වෙඬරු (බටර්), තෙල්, මී පැණි, පැණි) කාලයේ හා විකාලයේ පරිභෝගයට අනුදැනීම.

2) වුරුණු තෙල් (වලස් තෙල්, මාළු තෙල්, කිඹුල් තෙල්, ඌරු තෙල්, කොටළු තෙල්)

   i. කාලයේ පිළිගෙන
   ii. කාලයේ කකාරවා
   iii. කාලයේ පෙරා,

   තෙල් පරිභෝගයෙන් වැළඳීමට අනුදැනීම. එම ක්‍රියා තුනෙන් යමක් විකාලයේ කෙරේද, වළඳන්නාට ඒ එකිනෙකින් දුක්කට ඇවැත බැගින් වේ.

3) ආහාර ලෙස නොගැනෙන මුල් (අල) බෙහෙත් වර්ග යාවජීවක බෙහෙතක් ලෙස හේතුවක් ඇති කල්හි වැළඳීමට අනුදැනීම. හේතුවක් නැතිව වැළඳුවොත් දුක්කට ඇවැතක් වේ.

4) ඇඹරුම් ගල හා දරුගල අනුදැනීම.

5-9) ආහාර ලෙස නොගැනෙන කසට බෙහෙත් / කොළ බෙහෙත් / ඵල බෙහෙත් / මැලියම් බෙහෙත් / ලුණු බෙහෙත්, යාවජීවක බෙහෙතක් ලෙස හේතුවක් ඇති කල්හි වැළඳීමට ඇනුදැනීම. හේතුවක් නැතිව වැළඳුවහොත් දුක්කට ඇවැතක් වේ.

10) කැසීම්, සැරව ගැලීම්, ඕජස් ගැලීම් වැනි රෝග හෝ කය දුගඳ හමා නම් හෝ එවැනි අයට සුණු බෙහෙත් අනුදැනීම. අගිලනාට ගොම, මැටි, රජන කසට අනුදැනීම.

11) වංගෙඩිය, මොහොල, සුණු පෙරහන, රෙදි පෙරහන, අඳුන් නලය, අඳුන් නල පියන, අඳුන් කූර, අඳුන් කූරුලන කොපුව, කූරු දැමීමට පසුම්බියක් හා උරහිස ලන පටියක්, නැහැ ඔරුවක්, සමදෙණි දෙකකින් යුත් නැහැ ඔරුවක් අනුදැනීම.

12) අමනුෂ්‍ය ආබාධයකදී අමු මස් හා අමු ලේ අනුදැනීම.

13) ඇස් රෝග සඳහා අඳුන් අනුදැනීම.

14) රන් රිදී ආදී වටිනා අඳුන් නල භාවිතා කළොත් දුක්කට ඇවැතක් වේ.

15) රන් රිදී ආදී වටිනා අඳුන් කුරු භාවිතා කළොත් දුක්කට ඇවැතක් වේ.

16) හිසරුදාවට හිසතෙල් ගෑම හා නස්‍ය කිරීම අනුදැනීම.

17) රන් රිදී ආදී වටිනා නැහැ ඔරු භාවතා කළොත් දුක්කට ඇවැතක් වේ.

18) බෙහෙත් දුම් බීම, ඒ සඳහා දුම් කෝවක් හා ඊට පියනක්, එය දැමීමට පසුම්බියක්, ද්විත්ව පසුම්බියක්, උර පටියක් ඇනුදැනීම.

19) රන් රිදී ආදී වටිනා දුම් කෝව භාවිතා කළොත් දුක්කට ඇවැතක් වේ.

20) වාතාබාධයට තෙල් පිසීම අනුදැනීම.

21) මද්‍යය වල පාට හො රසය නොපැනේද, එවැනි මද්‍යය යෙදූ බෙහෙත් තෙල් බීමට අනුදැනීම.

22) ලෝහ, ලී, මේරූ එල යන සැළි තුන අනුදැනීම.

23) ඇඟරුදාව සඳහා ඩහදිය ගැන්වීම හා ඊට දිය කොටුවක්ද, හන්දිරුදාව සඳහා ලේ මුදා අඟකින් ගන්නටද, පය පැළුණු විට පා ගල්වන තෙලක්ද, සැත්කම්, කහට වතුර, තල කල්කය, පැලැස්තරය, වණ බඳින රෙදිකඩ, වණය කසන නිසා අබ කුඩු ගෑමටත්, වියැලීමට දුම් ඇල්ලීමත්, මස්දළු ලුණු පුපුරකින් සිඳින්නටත්, වණයේ තෙල් ගෑමටත්, සියළු වණ පිළියම්ද අනුදැනීම.

24) සර්ප දෂ්ඨ කිරීම් සඳහා සතර මහා විකටය (මල, මුත්‍රා, උණු අළු, මැටි මිශ්‍ර කර සාදන බෙහෙතකි) අනුදැනීම, කැපකරුවෙකු ඇති කල්හි පිළිගන්වා ගෙනද, නැතිනම් තමන්ම ගෙන වැළඳීමටද අනුදැනීම.

25) විස පෙවීම සඳහා ගූථය පෙවීමටත්, වශීකරණ බෙහෙතක් බොන ලද නම් නඟුලෙහි ඇලුණු මඩ පෙවීමටත්, නපුරු ග්‍රහණී රෝගයකදී වියලි බත් පුළුස්සා දිය කර පෙරා පෙවීමටත්, පාණ්ඩු රෝගය සඳහා (ගව) මූත්‍රයෙහි ලු අරළුත්, හමේ ලෙඩකදී සුවඳ ද්‍රව්‍ය ආලේප කිරීමටත්, දොස් කිපුණු සිරුරක් ඇත්තේ නම් විරේචනයක් පෙවීමටත්, බෙහෙත් ලෙස බත් නැති කැඳ වතුර, මුං ඇට තැම්බූ වතුර, මස්රසයද අනුදැනීම.

26) ආරාමිකයෙකු අනුදැනීම.

27) අළු හා පිටි කලවම් කළද හකුරු විකාලයේ අනුදැනීම.

28) පැලවුනද තම්බපු මුං ඇට වැළඳීමට අනුදැනීම.

29) ගිලනට ලෝණසෝවීරකයත් අගිලනාට දිය මුසු කළ ලෝණසෝවීරකයත් පාන පරිභෝගයෙන් වැළඳීමටත් අනුදැනීම.

30) (ආරාමය) ඇතුලත තබන ලද, ඇතුලත පිසින ලද, තමන් පිසූ දෙය වළඳයිනම් එකකින් එක බැගින් දුක්කට ඇවැත් තුනක් වේ.

31) නැවත පිසීම අනුදැනීම.

32) සම්බාධ ස්ථානය (වසමග, පසමග) වටා ඇඟිලි දෙකක් හාත්පස ශල්‍ය කර්ම හෝ වස්තිකර්ම නොකරවිය යුතුයි. යමෙක් කරවා නම් ථුල්ලච්චය ඇවැතක් වේ.

33) මිනිස් මස් නොවැළඳිය යුතුයි. වැළඳානම් ථුල්ලච්චය ඇවැතක් වේ.

34) 'මස කුමක්ද'යි නොවිචාරා මස නොවැළඳිය යුතුයි. වළඳා නම් දුක්කට ඇවැතක් වේ.

35) අලි, අශ්ව, බලු, සර්ප, සිංහ, ව්‍යාග්‍ර, කොටි, වලස්, කරබානා වලස් යන සතුන්ගේ මස් නොවැළඳියි යුතුයි. වළඳා නම් දුකක්ට ඇවැතක් වේ.

36) කැඳත් මී පිඬුත් කාලයේ අනුදැනීම.

37) ගිලනට හකුරුත්, අගිලනාට හකුරු දිය කළ දියත් අනුදැනීම.

38) දැන දැන තමන් උදෙසා කළ මස නොවැළඳිය යුතුයි. යමෙක් වළඳා නම් දුක්කට ඇවැතක් වේ. තමන් වෙනුවෙන් මරණ ලදැයි තමා නොදුටු, නොඇසූ, සැක නොකළ ත්‍රිකෝටි පාරිශුද්ධ මස් - මාළු අනුදැනීම.

39) ආහාර තැබීමට කැප බිමක් සම්මත කිරීමට අනුදැනීම හා කැපබිම් හතරක් අනුදැනීම.

40) පස්ගෝරස (කිරි, දී කිරි, මෝරු, වෙඬරු (බටර්), ගිතෙල්) (කාලයේ) අනුදැනීම.

41) කාන්තාර මඟ යාමට සහල් ආදිය සෙවීමට අනුදැනීම. නමුත් කිසිම අයුරකින් මුදල් පිළිනොගත යුතුයි.

42) ධාන්‍ය යූෂය හැර සියළු පලතුරු යූෂ (ඵල රසය) අනුදැනීම.[1] පලා කොළ වල යූෂ හැර සියළු කොළ වල යූෂද, මී මල් යූෂ හැර සියළු මල් වල යූෂද, උක් යූෂද (උක් පැණි) විකාලයේ පාන ලෙස අනුදැනීම. (යාමකාලික)

[1] ''සබ්බං ඵල රසං ධපෙත්වා ධඤ්ඤරසං'' - මහාඵල කතාවක් අටුවා වල එනමුත්, පෙළේ එවැන්නක් නැත.

43) සියළු (පිසූ-නොපිසූ) පලාද, සියළු පිටි කැමද (කැවිලිද) (කාලයේ) අනුදැනීම.

44) පැවිද්දෙක් නොකැප දෙයෙහි සමාදන් නොකරවිය යුතුයි. සමාදන් කළොත් දුක්කට ඇවැතක් වේ.

45) පෙර කරණවැමි වූ මහණ විසින් කර බඩු (දැලිපිහි, රේසර්) පිරිහරණය නොකළ යුතුයි. පරිහරණය කෙරේ නම් දුක්කට ඇවැතක් වේ.

46) සාංඝික බීජ පුද්ගලික භූමියක පැල කළොත් හෝ පුද්ගලික බීජ සාංඝික භූමියක පැල කළොත් කොටසක් දී වැළඳීමට අනුදැනීම.

47) සතර මහෝපදේශ :

i. යමක් "මෙය නොකැපයැ"යි ප්‍රතික්ෂේප නොකරන ලද ද එය අකැප දෙයට අනුලෝම වේද, කැපදෙය වළකයිද, එය අකැපය.

ii. යමක් "මෙය නොකැපයැ"යි ප්‍රතික්ෂේප නො කරන ලද ද එය කැපයට අනුලෝම වේද, අකැපය වළකයිද, එය කැපය.

iii. යමක් "මෙය කැපයැ"යි නො අනුදක්නා ලද ද එය අකැපයට අනුලෝම වේද, කැපය වළකාද, එය අකැපය.

iv. යමක් "මෙය කැපයැ"යි නො අනුදක්නා ලද ද එය කැපයට අනුලෝම වේද, අකැපය වළකාද, එය කැපය.

48)
- එදවස පිළිගත් යාවකාලිකය හා මිශ්‍ර වූ යාමකාලිකය කාලයෙහි (පෙරවරුවෙහි) කැප වේ. විකාලයේ අකැපය.
- එදවස පිළිගත් යාවකාලිකය හා මිශ්‍ර වූ සත්තාහකාලිකය කාලයෙහි කැප වේ. විකාලයේ අකැපය.
- එදවස පිළිගත් යාවකාලිකය හා මිශ්‍ර වූ යාවජීවකය කාලයෙහි කැප වේ. විකාලයේ අකැපය.
- එදවස පිළිගත් යාමකාලිකය හා මිශ්‍ර වූ සත්තාහකාලිකය එදිනට කැපවේ. පැසුළුයම ඉක්මුනු කල්හි නොකැප වේ.
- එදවස පිළිගත් යාමකාලිකය හා මිශ්‍ර වූ යාවජීවකය එදිනට කැප වේ. පැසුළුයම ඉක්මුනු කල්හි නොකැප වේ.
- එදවස පිළිගත් සත්තාහකාලිකය හා මිශ්‍ර වූ යාවජීවකය සතියක් කැප වේ. සතිය ඉක්මුනු කල්හි නොකැප වේ.

49) නොපිළිගැන්වූ ආහාරයක් තමන්ම ගෙන ගොස් කැපකරුවෙකු දැක බිම තබා පිළිගන්වා ගෙන වැළඳීමෙහි (උග්ගහිත-පටිග්ගහිතේ) දුක්කට ඇවැතක් වේ.

## 1 .7 කඨිනක්ඛන්ධකය

1. වස් විසූ භික්ෂූන්ට කඨිනය ඇතිරීමට අනුදැනීම.

2. කඨිනය පිළිබඳ පළිබෝධ දෙකකි.

   i. ආවාස පළිබෝධයඃ මහණ එම ආවාසයේ වසයි. නැතිනම් "ආපසු එන්නෙමි" යි බලාපොරොත්තු ඇතිව බැහැර යයි.
   ii. චීවර පළිබෝධය ඃ සිවුර නොකරණ ලද්දේ හෝ වෙයි, අඩක් කරන ලද්දේ හෝ වෙයි, සිවුරු ආශාව නොසිඳුනේ හෝ වෙයි.

(මෙම පළිබෝධ එකක් හෝ ඇති කළ කඨිනානිසංස ලැබේ)

3. කඨිනය පිළිබඳ අපළිබෝධ දෙකකි.

   i. ආවාස අපළිබෝධය ඃ "ආපසු නොඑන්නෙමි" යි අපේක්ෂා රහිතව පිටවී යයි.
   ii. චීරව අපළිබෝධය ඃ සිවුර කරන ලද්දේ හෝ වෙයි, නැසුනේ හෝ වෙයි, චීවර ආශාව සිඳුනේ හෝ වෙයි.

(මෙම අපළිබෝධ දෙකම තෘප්ත වූ කල කඨිනානිසංස නැති වී යයි)

(කඨිනුද්ධාරය වන විධි මෙම පරිච්ඡේදයේ විස්තර කර ඇත.)

## 1 .8 චීවරක්ඛන්ධකය

1) ගෘහපති සිවුර අනුදැනීම. කැමති කෙනෙකුට පාංශුකූලික වීමටත්, කැමති කෙනෙකුට ගෘහපති සිවුරක් පාවිච්චි කිරීමටත් අනුදැනීම. ලද දෙයින් සතුටු වීම වර්ණනා කිරීම.

2) පොරෝණා සළුව, සේද පොරෝණාව, කොඳු පලස, කම්බිලිය, සිවුරු සය (කොමු, කපු, සේද, කම්බිලි, හණ, මිශ්‍ර) අනුදැනීම.

3) ගෘහපති සිවුර පිළිගන්නාට පාංශුකූල සිවුරත් අනුදැනීම.

4) පාංශකූලූ සිවුරු බලාපොරොත්තු නොවන කෙනාට ඉන් කොටසක් අකැමැත්තෙන් නොදීමට අනුදැනීම.

5) බලාපොරොත්තු වන කෙනාට, එකට සෙහොනට ඇතුල්වන කෙනාට හා කතා කොට සෙහොනට ඇතුල්වන කෙනාට අකැමැත්තෙන් වුවද පාංශුකූලයෙන් කොටසක් දීමට අනුදැනීම.

6) පසුව සෙහොනට එන කෙනාට පාංශුකූලයෙන් කොටසක් අකැමැත්තෙන් නොදීමට අනුදැනීම.

7) සිවුරු පිළිගන්නෙක්, සිවුරු තැන්පත් කරන්නෙක්, භාණ්ඩාගාරයක්, භාණ්ඩාගාරිකයෙක්, සිවුරු බෙදන්නෙක් සම්මත කිරීමට අනුදැනීම.

8) භාණ්ඩාගාරික පහ නොකළ යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ.

9) හමු වූ සංඝයා සිවුරු බෙදාගන්නට අනුදැනීම.

10) හෙරණුන්ට කොටස් බාගයක් දීමට අනුදැනීම.

11) එතෙර යනු කැමැත්තාට ඔහුගේ කොටස දීමටත්, වැඩි කොටසකින් යාමට කැමති නම්, වැඩි කොටස වෙනුවට කැප පිරිකරක් දුන් කල්හි වැඩි කොටසක් දීමටත් අනුදැනීම.

12) කුසපත් ඇද සිවුරු කොටස් දීමට අනුදැනීම.

13) පඬු වර්ග 6 අනුදැනීම. (මුල්, දඬු, පොතු, කොළ, මල්, ඵල)

14) පඬු පිසීමටත්, ඒ සඳහා උදුනක් හා පඬු සැලියක්ද අනුදැනීම.

15) පඬු පැසුනේදැයි බැලීමට දියෙහි හෝ නිය පිට හෝ පඬු බිංදුවක් හෙලන්නට අනුදැනීම.

16) පඬු බෑමට පඬු කිණිස්සත්, දඬුයෙන් කල හැන්දත් අනුදැනීම.

17) පඬු දැමීමට මහපඬු සැළියත්, පඬු කළයත් අනුදැනීම.

18) පඬු ඔරුවත්, සිවුරු වියලීමට තණ ඇතිරියත්, සිවුරු දණ්ඩත්, සිවුරු රැහැනත්, සිවුරු කොණ් බඳිනන්ටත්, ඒ සඳහා නූලකුත් අනුදැනීම.

19) පෙරල පෙරලා පඬු පොවන්නටත්, දියබින්දු නොසිඳුන තෙක් බැහැර නොයන්නටත් අනුදැනීම.

20) සිවුරු තද වේ නම් දියෙහි ගිල්වීමටත්, රළු වේ නම් අතින් පොඩි කරන්නටත් අනුදැනීම.

21) (කුඹුරක ආකාරයට) කඩ කැපූ දෙපට සිවුර, තනිපට සිවුර හා අඳනය අනුදැනීම.

22) තුන් සිවුර අනුදැනීම.

23) වැඩිපුර සිවුරක් දින 10ක් පරම කොට තබාගැනීමට අනුදැනීම.

24) වැඩිපුර සිවුර විකපන්නට අනුදැනීම.

25) අළුත් හෝ අළුත් හා සමාන වස්ත්‍රයෙන් දෙපට සංඝාටියත්, තනිපට උත්තරාසංගය හා අඳනය ද, පැරණි (දුර්වල) වස්ත්‍රයෙන් සතර පට සංඝාටියත්, දෙපට උත්තරාසංගය හා අඳනය ද, පාංශුකූල වස්ත්‍රයෙන් කැමති පට ගණනක් කිරීමටද අනුදැනීම.

26) අණ්ඩ දැමීම අනුදැනීම.

27) වැසසිළු, ආගනත්තු බත, ගමික බත, ගිලන් බත, ගිලානෝපස්-ථායක බත, ගිලන් බෙහෙත්, නිතිකැඳ, මෙහෙණියන්ට දියසළු ද අනුදැනීම.

28) කය, සිවුර, සෙනසුන් රැකීමට නිසීදනයත්, කැමති තරම් විශාල පච්චත්ථරණයත් අනුදැනීම.

29) කැසීම්, සැරව ගැලීම්, ඕජස් ගැලීම් යන රෝග ඇත්තාට කණ්ඩුපටිච්ඡාදනයක් අනුදැනීම.

30) මුව පිස්නාව, පරික්ඛාර රෙදි අනුදැනීම.

31) තුන් සිවුර, නිසීදනය, පච්චත්ථරණය, මුව පිස්නාව, පිරිකර රෙදි අධිෂ්ඨාන කිරීමටත් නො විකපන්නටත්, වැසි සළුව වැසි සාර මාසයේ අධිෂ්ඨාන කිරීමටත් ඉන්පසු විකපන්නටත්, කණ්ඩුපටිච්ඡාදනය ආබාධය ඇති තාක් අධිෂ්ඨාන කිරීමටත් ඉන්පසු විකපන්නටත් අනුදැනීම.

32) දිගින් සුගත් අඟලෙන් අටඟුලක් (වඩුරියනක්) වූත්, සතරඟුලක් (වඩු වියතක්) පමණ පළල් වූත් පශ්චිම චීවරය විකපන්නට අනුදැනීම.

33) සියල්ල කඩ කපා මැසීමට සිවුරු මදිනම් සිවුරු දෙකක් කපාමැසීමටත් එකක් නොකපාද, ඒත් මදි නම් එකක් කපා මැසීමටත් දෙකක් නොකපාද, ඒත් මදි නම් අමුතු රෙදි කඩක් ඇල්ලීමට අනුදැනීම. සියල්ල නොකැපූ තුන් සිවුර නොදැරිය යුතුයි. දරා නම් දුක්කට ඇවැතක් වේ.

34) මව් පියන්ට (වස්ත්‍ර) දීමට අනුදැනීම. ශ්‍රද්ධාවෙන් පූජා කරන ලද්ද විනාශ නොකළ යුතුයි. කළොත් දුක්කට ඇවැතක් වේ.

35) සිවුරු දෙකකින් ගම් නොවැදිය යුතුයි. ගම් වදී නම් දුක්කට ඇවැතක් වේ.

36) එක් සිවුරක් බහා තැබීමට කරුණු 5කිඃ ගිලන් වෙයි, වැසි ලකුණක් වෙයි, ගඟෙන් එතෙර යා යුතු වෙයි, අගුළු යෙදූ විහාරයක් වෙයි, කඨිනය අතුලේ වෙයි.

37) තනිව වෙසෙන භික්ෂුවට ලැබෙන සාංඝික සිවුරු "මේ සිවුරු මගේ" යැයි අධිෂ්ඨාන කිරීමට අනුදැනීම.

38) එක් තැනක වස් වැස වෙන තැනක සිවුරු කොටසක් නො පිළිගත යුතුයි. පිළිගත හොත් දුක්කට ඇවැතක් වේ.

39) යමෙක් ආවාස දෙකක වස් වසීනම්, යම් තැනක වැඩිපුර වසා නම්, එතැනින් සිවුරු කොටස දිය යුතුයි. සම සමව වසා නම් සිවුරු කොටස් වලින් බාගය බැගින් දිය යුතුයි.

40) ගිලනට, උපාද්ධ්‍යාය හෝ ආචාර්යවරයා හෝ සද්ධිවිහාරික හෝ අන්තේවාසික හෝ සමානෝපාද්ධ්‍යාය හෝ සමානාචාර්ය හෝ උපස්ථාන කළ යුතුයි. එවැන්නෙක් නැති නම් සංඝයා හෝ උපස්ථාන කල යුතුයි. නොකරන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

41) සාමණේර හෝ භික්ෂූනමක් අපවත් වූ කල පාත්‍ර සිවුරු සංඝයාට අයත් වේ. ඒවා ගිලානෝපස්ථායකයන්ට දීමට අනුදැනීම. සාමණේර නමක් ද උපස්ථාන කළහොත් ඔහුටත් සම කොටසක් දීමට ඇනුදැනීම.

42) භික්ෂුවක් අපවත් වූ කළ පාත්‍ර සිවුරු සංඝයා විසින් ගිලනෝපස්ථායකයන්ට දීමටත් ලහු භාණ්ඩ සම්මුඛ වූ සංඝයා බෙදා ගැනීමටත්, ගරු භාණ්ඩ නොබෙදා සාංඝකි කොට තැබීමටත් අනුදැනීම.

43) අන්‍යාගමික ව්‍රතයක් වූ නග්නභාවය සමාදන් නොවිය යුතුයි. සමාදන් වන්නේ නම් ථුල්ලච්චය ඇවැතක් වේ.

44) අන්‍යාගමික ඇඳුම් වූ කුසවැහැරි, වාවැහැරි, පෝරුවැහැරි, කෙහෙකම්බිලි, සැඩ සතුන්ගේ ලොමින් කල කම්බිලි, බකමූණු පියාපත්, අඳුන් දිවිසම් නොදැරිය යුතු, දරන්නේ නම් ථුල්ලච්චය ඇවැතක් වේ.

45) වරාහුයෙන් හෝ නියඳවැහැරියෙන් කළ වතක් නොහැන්ද යුතු. හැන්දොත් දුක්කට ඇවැතක් වේ.

46) සියල්ල නිල්, කහ, රතු, මදටියවන්, කළු, රත්වැපිට පැහැති, මිශ්‍ර පැහැ සිවුරුද, නොසිඳූ දවලූ, දික් දවලූ, මල්කම්, පෙන සේ ගෙතූ දවලූ ඇති සිවුරු ද, සැට්ටය, තිහිරිපිළි හෝ හිස් වෙළුම්ද නොදැරිය යුතුය. දැරුවොත් දුක්කට ඇවැත් වේ.

47) සිවුරු නූපන් කල්හි හෝ බෙදීමට ප්‍රථම වස් වැසි භික්ෂුවක් පිටව යා නම් ඔහුගේ කොටස ඔහු වෙනුවෙන් සුදුසු ගන්නෙකු ඇති කල්හි දිය යුතුය. උමතු භාවයට, වේදනාවෙන් පෙළුනෙක්, උක්ෂේපනය කරනු ලද්දෙක් වේද, එවිටද ඔහුගේ කොටස සුදුසු ගන්නෙකු ඇති කල්හි දිය යුතුය.

48) සිවුරු බෙදීමට පෙර සංඝයා බෙදුනි නම් සියල්ලන්ට සමාන කොටස් දිය යුතුය.

49) බෙදුනු පසු සංඝයාට කියා දෙන දෙය සංඝයාටම අයිතිය. පක්ෂයකට කියා දෙන දෙය එම පක්ෂයටම අයිතිය.

50) භික්ෂුවක් සිවුරක් තවත් භික්ෂුවක් අතේ වෙනත් භික්ෂුවකට යවයි, "මේ සිවුර අහවලාට දෙන්න" යැයි කියා, එහි අයිතිය ඇත්තේ යවන්නාටය. යවන්නා කෙරෙහි විශ්වාසයෙන් ගනීනම් හෝ ඔහු අපවත් වූ කළ මතක සිවුරක් සේ ඉටයිද, මැනවි. ලබන්නා කෙරෙහි විශ්වාසයෙන් ගනීනම් හෝ ඔහු අපවත් වූ කළ මතක සිවුරක් සේ ඉටයි ද වැරදි ඉටීමකි.

51) භික්ෂුවක් සිවුරක් තවත් භික්ෂුවක් අතේ වෙනත් භික්ෂුවකට යවයි, "මේ සිවුර අහවලාට දෙමි" යැයි කියා. එහි අයිතිය ඇත්තේ ලබන්නාටය. යවන්නා කෙරෙහි විශ්වාසයෙන් ගනීනම් හෝ ඔහු අපවත් වී නම් මතක සිවුරක් සේ ඉටයිද, වැරදි ඉටීමකි. ලබන්නා කෙරෙහි විශ්වාසයෙන් ගනීනම් හෝ ඔහු අපවත් වූ කළ මතක සිවුරක් සේ ඉටයිද, මැනවි.

## 1 .9 චම්පෙය්‍යක්ඛන්ධකය

1) ඇවැතක් නැතිව, වස්තුවක් නැතිව, කාරණයක් නැතිව පිරිසිදු භික්ෂුව උක්ෂේපණය කළොත් දුක්කට ඇවැතක් වේ.

2) ධාර්මික සමඟිකර්ම පමණක් අනුදැනීම.

3) පිරිවෙස් පුරන්නෙක්, මුලායපටිකස්සනයට සුදුස්සෙක්, මානතට සුදුස්සෙක්, මානතේ හැසිරෙන්නෙක්, අබ්භානයට සුදුස්සෙක් සිව්වැනි කොට පිරිවෙස් දෙන්නේ නම්, මූලායපටිකස්සනය කරන්නේ නම්, මානත දෙන්නේ නම්, ඔහු විසිවැනි කොට අබ්භානය කරන්නේ නම් කර්ම නොවේ, නොකළ යුතුද වේ.

4) කර්මයක් කරන විට භික්ෂුවක් නොවන කෙනාගේ, නානාසංවාසකයාගේ, නානාසීමාවන්හි සිටින්නාගේ, ඍද්ධියෙන් අහසෙහි සිටින්නාගේ, යමෙකුට කර්මය කෙරේද ඔහුගේද වැළකීම සඟ මැද නොනඟී.

5) සමාන සංවාසක, සමාන සීමාවක සිටි, ප්‍රකෘති භික්ෂුවගේ වැළකීම, යටත් පිරිසෙයින් තමන් ලඟම සිටින මහණහුට දන්වන්නේ නම් එම වැළකීම නඟී.

(ධර්මකර්ම හා අධර්මකර්ම පිළිබඳව දීර්ඝ විස්තරයක් මෙම ඛන්ධකයේ පැමිණේ)

## 1 .10 කෝසම්බක්ඛන්ධකය

1) නානාසංවාසක භික්ෂූන්ට වෙන වෙනම එකම සීමාවක් තුල සංඝකර්ම කළ හැකිය.

2) සංඝයා බිඳුනු කල, සතුටු විය නොහැකි කතා ඇති කල්හි ලඟ අසුන්වල නොහින්ද යුතු. සතුටු විය හැකි කතා ඇත්නම් අසුනක් හැර අසුනක් හිඳිය යුතු.

3) (බෙදුනු කල්හිද) කිසි ලෙසකින් වැඩිහිටි භික්ෂූන්ට සෙනසුන් නොවැළැක්විය යුතුය. යමෙක් වළකා නම් දුක්කට ඇවැතක් වේ. ආමිෂය සියල්ලන්ටම සමානව දිය යුතුය.

4) සංඝභේදයක් වී නානාසංවාසක වූ භික්ෂූන්, එම භේදයට මුල් වූ කරුණ විසඳා සමඟි වූ කළ සංඝ සාමග්‍රිය කොට, උපෝසථය කිරීමට අනුදැනීම.

(සංඝ සාමග්‍රියේ අගය, සංඝයාභේද වීම හා නැවත සමඟි වීම පිළිබඳ විස්තර මෙම බන්ධකයේ ඒ)

# 2 . චුල්ලවග්ගපාළි

## 2 .1 කම්මක්ඛන්ධකය

1) තජ්ජනීය කර්මය කළ යුත්තේ : දබර කරන, කලහ කරන, විරුද්ධ වාද කරන, වාක් කලහ කරන, සඟ මැද අධිකරණ උපදවන්නාටය.

2) නියස්ස කර්මය කළ යුත්තේ : අනුවණ, අව්‍යක්ත, ආපත්ති බහුල, ආපත්ති වල කෙළවරක් නැති, නොගැලපෙන ගිහි සංසර්ගයෙන් යුක්තව ගිහියන් හා ඇලී වෙසෙන්නාටය.

3) පබ්බාජනීය කර්මය කළ යුත්තේ : ගිහි පවුල් වල ශ්‍රද්ධාව නැති කරන පාපී පැවතුම් ඇත්තාටය.

4) පටිසාරණීය කර්මය කළ යුත්තේ : ගිහියනට අලාභය පිණිස, අනර්ථය පිණිස, නොවිසීම පිණිස උත්සහ කරන, ගිහියන්ට අක්‍රෝශ පරිභව කරන, ගිහියන් ඔවුනොවුන් බිඳුවන කෙනාටය.

5) ආපත්තියා අදස්සනේ උක්ඛේපනීය කර්මය කළ යුත්තේ : ඇවැතකට පැමිණ එය ඇවැතක් ලෙස දක්නට අකැමැති කෙනාටය.

6) ආපත්තියා අප්පටිකම්මේ උක්ඛේපනීය කර්මය කළ යුත්තේ : ඇවැතකට පැමිණ, එම ඇවැතට පිළියම් කිරීමට නොකැමැත්තාටය.

7) පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගේ උක්ඛේපනීය කර්මය කළ යුතතේ : පාපී දෘෂ්ඨියකට පැමිණ එය අත් නොහරින්නාටය.

(මෙම කර්ම කරන ආකාරය හා ඔවුන් විසින් පිරිය යුතු වත් මෙම ඛන්ධකයේ විස්තර කෙරේ)

## 2 .2 පාරිවාසිකක්ඛන්ධකය

1) ප්‍රකෘති භික්ෂුවක් විසින් කරන වැඳීම, දක හුනස්නෙන් නැගී සිටීම, ඇඳිලි බැඳීම, සාමිචි කර්මය, අසුන් එළැවීම, යහන් එළැවීම, පාදෝනා දිය එළැවීම, පා පුටුව පාකටෙලිය එළැවීම, පා සිවුරු පිළිගැනීම, නෑමෙහි පිට පිරිමැදීම යන දේ පිරිවෙස් පුරන, මූලායපටිකස්සනාවට සුදුසු, මානතට සුදුසු, මානත පුරන, අබ්භානයට සුදුසු භික්ෂූන් විසින් නො ඉවැසිය යුතුය. යමෙක් ඉවසන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

2) පිරිවෙස් පුරන, මූලායපටිකස්සනාවට සුදුසු, මානතට සුදුසු, මානත පුරන, අබ්භානයට සුදුසු යන කාණ්ඩවල භික්ෂූන්ට උනුන් වැඩි මහලු පිළිවෙලින් වැඳීම, දක හුනස්නෙන් නැගී සිටීම. ඇඳිලි බැඳීම, සාමිචි කර්මය, අසුන්එළැවීම, යහන් එළැවීම, පාදෝනා දිය එළැවීම, පා පුටුව පාකටෙලිය එළැවීම, පා සිවුරු පිළිගැනීම, නෑමෙහි සිට පිරිමැදීම යන මෙකී වත් කිරීම අනුදැනීම.

3) පිරිවෙස් පුරන, මූලායපටිකස්සනාවට සුදුසු, මානතට සුදුසු, මානත පුරන, අබ්භානයට සුදුසු යන භික්ෂූන්ටද උපෝසථය, පවාරණය, වැසි සළුව, පසුව ලබන අදහසින් එදිනට නියමිත බත නොගෙන හැරීම ('ඕනෝජන'), චතුශ්ශාලා බත ඉවසීම යන පහ සාමාන්‍ය වැඩිමහලු පිළිවෙළටම කිරීම අනුදැනීම.

4) විශාල භික්ෂු පිරිසක් එක්රැස්වීම නිසා පිරිවෙස ශෝධනය කළ නොහැකි වූයෙන් පිරිවෙස නික්ෂේප කිරීමට අනුදැනීම.

5) භික්ෂූන් පිටව ගියෙන් නැවත පිරිවෙස සමාදන් වීමට අනුදැනීම.

6) විශාල භික්ෂු පිරිසක් එක්රැස්වීම නිසා මානත ශෝධනය කළ නොහැකි වූයෙන් මානත නික්ෂේප කිරීමට අනුදැනීම.

7) භික්ෂූන් පිටව ගියෙන් නැවත මානත සමාදන් වීමට අනුදැනීම.

(පිරිවෙස් පුරන, මූලායපටිකස්සනාවට සුදුසු, මානතට සුදුසු, මානත පුරන, අබ්භානයට සුදුසු යන භික්ෂූන් විසින් පිරිය යුතු වත් පිළිවෙත් මෙම ඛන්ධකයේ විස්තර කෙරේ)

## 2 .3 සමුච්චයක්ඛන්ධකය

1) භික්ෂුවක් දෙමසක් පිළිසන් සඟවෙසෙස් ඇවැත් දෙකකට පැමිණෙයි. එක් ඇවැතක් දැන පිළිසන්ය. එක් ඇවැතක් නොදැන පිළිසන්ය. සංඝයා එම ඇවැත් දෙකටම දෙමස් පිරිවෙස් දෙයි. දැන පිළිසන් ඇවැතට පිරිවෙස් දීම දැහැමිය. නොදැන පිළිසන් ඇවැතට පිරිවෙස් දීම නොදැහැමිය. ඔහු එක් අවැතකට (පළමු ඇවැතට) මානත ලැබීමට සුදුසුය.

2) භික්ෂුවක් දෙමසක් පිළිසන් සඟවෙසෙස් ඇවැත් දෙකකට පැමිණෙයි. එක් ඇවැතක් සිහි කරමින් පිළිසන්ය. එක් ඇවැතක් සිහි නොකරමින් පිළිසන්ය. සංඝයා එම ඇවැත් දෙකටම දෙමස් පිරිවෙස් දෙයි. සිහි කරමින් පිළිසන් ඇවැතට පිරිවෙස් දීම දැහැමිය. සිහි නොකරමින් පිළිසන් ඇවැතට පිරිවෙස් දීම නොදැහැමිය. එක් ඇවැතකට (පළමු ඇවැතට) ඔහු මානත ලැබීමට සුදුසුය.

3) භික්ෂුවක් දෙමසක් පිළිසන් සඟවෙසෙස් ඇවැත් දෙකකට පැමිණෙයි. එක් ඇවැතක් විමතියක් නැතිව පිළිසන්ය. එක් ඇවැතක් විමති ඇතිව පිළිසන්ය. සංඝයා එම ඇවැත් දෙකටම දෙමස් පිරිවෙස් දෙයි. විමතියක් නැතිව පිළිසන් ඇවැතට පිරිවෙස් දීම දැහැමිය. විමති ඇතිව පිළිසන් ඇවැතට පිරිවෙස් දීම නොදැහැමිය. එක් ඇවැතකට (පළමු ඇවැතට) ඔහු මානත ලැබීමට සුදුසුය.

4) භික්ෂුවක් යම් (ගරු හෝ ලහු) ඇවැතකට පැමිණ "තව කෙනෙකුට නො සැළකරන්නෙමි"යි සිත් ඇතිව සඟවා නම් අරුණ නැගි කල්හි ඇවැත සඟවන ලද්දේ වේ. හෙතෙම දුක්කට ඇවැතක් දෙසිය යුතු වෙයි.

(සංඝාදිසේස ඇවැත් වලට පැමිණෙන නොයෙක් විධි හා ඒවාට පිළියම් කෙරෙන අයුරු මෙම ඛන්ධකයේ විස්තර කෙරේ.)

## 2 .4 සමථක්ඛන්ධකය

1) නොහමු වූ (අසම්මුඛ) භික්ෂුවට තජ්ජනීය හෝ නියස්ස හෝ පබ්බාජනීය හෝ පටිසාරණීය හෝ උක්ෂේපනීය හෝ කර්මය නොකළ යුතුයි. කෙරේ නම් දුක්කට ඇවැතක් වේ.

2) "වරද කළම්හ"යි චූදිතයන්ගේ ප්‍රතිඥාවක් නැතිව භික්ෂූන්ට තජ්ජනීය හෝ නියස්ස හෝ පබ්බාජනීය හෝ පටිසාරණීය හෝ උක්ෂේපනීය හෝ කර්මය නොකළ යුතුයි. කෙරේ නම් දුක්කට ඇවැතක් වේ.

(සංඝයා අතර මතුවන අධිකරණ හා ඒවා සංසිඳවන අයුරු මෙම ඛන්ධකයේ විස්තර කෙරේ)

## 2 .5 ඛුද්දකවත්ථුක්ඛන්ධකය

1) නාන්නා වූ භික්ෂුව විසින් රුකෙහි, ටැඹෙහි, බිත්තියෙහි ඇඟ නො ඉළිය යුතුය. යමෙක් උළා නම් දුක්කට ඇවැතක් වේ.

2) ගිහියන් සඳහා පිළියෙල ව ඇති තොටුපලෙහි (අට්ඨානයෙහි) නො නෑ යුතු. නැවොත් දුක්කට ඇවැතක් වේ.

3) ගඳැවු අතින් (නාන තොට තබා ඇති ලී මුවා අතින්), කිරිඳිහුයෙන්, මල්ලකයෙන් ඇඟ උලා නො නෑ යුතු නැවොත් දුක්කට ඇවැතක් වේ.

4) (නාන තොටදී එකිනෙකා) ඇඟෙන් ඇඟ උළා පිරියම් නොකළ යුතුය. කළොත් දුක්කට ඇවැතක් වේ.

5) ගිලනට අකතමල්ලකය අනුදැනීම.

6) රෙදි වැටියෙන් ඇඟ ඉළීම අනුදැනීම.

7) ඔවුනොවුන් අතින් පිට ඉළීම අනුදැනීම.

8) කන් පළඳනා, එල්ලෙන නූල්, ගෙල පළඳනා, ඉඟ පළඳින නූල්, වළලු, අඟු පළඳනා, හස්තාභරණ, ඇඟිලි මුදු නොදැරිය යුතුය. යමෙක් දරා නම් දුක්කට ඇවැතක් වේ.

9) දික් කෙස් නොදැරිය යුතුය. දරා නම් දුක්කට ඇවැතක් වේ. මාස දෙකක කාලය හෝ දෑඟුලක (ඇඟිලි දෙකක මහත වූ) දිග හෝ නොඉක්මවා කෙස් බැමට අනුදැනීම.

10) බුරුසුවෙන්, පනාවෙන්, අත්පනාවෙන් කෙස් නොපීරිය යුතුය. ඉටි තෙලින්, දිය මුසු තෙලින් කෙහෙ මටසිලිටි නොකළ යුතුය. මේවා කෙරේ නම් දුක්කට ඇවැත් වේ.

11) කණ්ණාඩියෙහි හෝ දිය බඳුනෙහි මුහුණ නොබැලිය යුතුය. බැලුයේ නම් දුක්කට ඇවැතක් වේ.

12) (මුහුණේ) ආබාධයක් ඇති කල්හි කණ්ණාඩියෙහි හෝ දිය බඳුනෙහි මුහුණ බලන්නට අනුදැනීම.

13) මුහුණෙහි ආලේපන ආලේප නොකළ යුතුය. පුයර ආදී දේ නොතැවරිය යුතු, මුහුණෙහි සලකුණු නොතැබිය යුතු, ඇඟ හෝ මුහුණ හෝ ඇඟ-මුහුණ පැහැ නොගැන්විය යුතු, යමෙක් එසේ කරන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

14) ආබාධයක් ඇති කළ මුහුණේ බෙහෙත් ගෑමට ඇනුදූනීම.

15) නැටුම් හෝ ගැයුම් හෝ වැයුම් හෝ බැලීමට නොයා යුතුය. යා නම් දුක්කට ඇවැතක් වේ.

16) ගී හඬින් ධර්මය (සූත්‍ර) නොගැයිය යුතුය. ගායනා කළොත් දුක්කට ඇවැතක් වේ.

17) (ගාථා වලට) ස්වරභණ්‍යය අනුදැනීම.

18) ලොම් පිටතට ඇති පොරෝනා නොදැරිය යුතුය. දරා නම් දුක්කට ඇවැතක් වේ.

19) ශ්‍රමණයන්ට කැප වූ කරුණු පසකින් යුතු ඵල වළඳන්නට අනුදූනීම (එනම් 1. ගින්නෙන් රත් කළ, 2. ආයුධයකින් හානි කළ, 3. නියෙන් සිඳින ලද, 4. බීජ නැති (පැසුණු බීජ නැති), 5. බීජ ඉවත් කළ).

20) තමාගේ අංගජාතනය නො සිඳිය යුතුය. සිඳින්නේ නම් ථුල්ලච්චය ඇවැතක් වේ.

21) ගිහියන්ට, මනුෂ්‍යයත්වයට වඩා උත්තරීතර ධර්මයක් වූ ඍද්ධි පෙළහර නො පෙන්විය යුතුයි. පෙන්වා නම් දුක්කට ඇවැතක් වේ.

22) ලී පාත්‍රය නොදැරිය යුතුයි. දරා නම් දුක්කට ඇවැතක් වේ.

23) රන්, රිදී, මිණි, වෙරළුමිණි, පළිඟු, පිත්තල, වීදුරු, කළු ඊයම්, සුදු ඊයම්, තඹ පාත්‍රා නොදැරිය යුතුයි. දරා නම් දුක්කට ඇවැතක් වේ. යකඩ හා මැටි පාත්‍ර අනුදූනීම.

24) පාත්‍ර අඩියක් අනුදූනීම.

25) වටිනා පාත්‍ර අඩි (රන් රිදී) නොදැරිය යුතුයි. දරානම් දුක්කට ඇවැතක් වේ. කළු ඊයම් හා සුදු ඊයම් පාත්‍ර අඩි අනුදූනීම.

26) සන පාත්‍ර අඩි ලියන්නටද (තුනී කිරීමට), මුවර දැති කපන්නටද ඇනුදූනීම.

27) රූප ඇඳීම් ආදියෙන් විසිතුරු වූ පාත්‍රා අඩි නොදැරිය යුතුයි. දරා නම් දුක්කට ඇවැතක් වේ. ප්‍රකෘති පා අඩි අනුදැනීම.

28) දිය සහිත පාත්‍රය තැන්පත් කොට නොතැබිය යුතුයි. තබා නම් දුක්කට ඇවැතක් වේ. රත් කොට වියලා තැන්පත් කිරීමට අනුදැනීම.

29) දිය සහිත පාත්‍රය නො තැවිය යුතුය. තවා නම් දුක්කට ඇවැතක් වේ. දිය රහිත කොට (පිස දා) රත් කොට පාත්‍රය තැන්පත් කිරීමට ඇනුදැනීම.

30) උෂ්ණයෙහි පාත්‍රය බොහෝ වේලා නොතැබිය යුතුය. තබා නම් දුක්කට ඇවැතක් වේ. මොහොතක් උෂ්ණයෙහි තවා පාත්‍රය තැන්පත් කිරීමට අනුදැනීම.

31) පාත්‍ර තැබීමට පාත්‍ර ආධාරකයක් අනුදැනීම.

32) පිළ කෙළවර පාත්‍රය නොතැබිය යුතුය. තබා නම් දුකක්ට ඇවැතක් වේ.

33) පිළට පිටතින් වූ කුඩා පිළ කෙළවර (පරිභණ්ඩන්තේ) පාත්‍රය නොතැබිය යුතුයි. තබා නම් දුක්කට ඇවැතක් වේ.

34) පාත්‍රය තැබීමට තණ ඇතිරියක්, රෙදිකඩක්, පාත්‍රමාලකයක්, පාත්‍රය තබන කුඩයක්, ථවියකයක් හා ඊට උරබඳනාවක් හා බඳනා හුයක් අනුදැනීම.

35) (බිත්තියේ ගැසූ ඇණ ආදියේ) පාත්‍රය නො එල්ලිය යුතුය. එල්ලන්නේ නම් දුක්කට ඇවැතක් වේ

36) ඇඳෙහි, පුටුවෙහි, ඇකයෙහි, කුඩයෙහි පාත්‍රය නො තැබිය යුතු. තබා නම් දුක්කට ඇවැතක් වේ.

37) පාත්‍රය අතින් ගෙන කවුළුව නො ඇරිය යුතු. යමෙක් අරින්නේ නම් දුක්කට ඇවැතක් වේ.

38) ලබු කබලක්, කළ කබලක්, මිනී හිසක් ගෙන පිඬු පිණිස නො හැසිරිය යුතුය. හැසිරේ නම් දුක්කට ඇවැතක් වේ.

39) සප හෝ ඇට හෝ ඉඳුල් දිය හෝ පාත්‍රයෙන් ගෙන නොයා යුතුය. ගෙන යා නම් දුක්කට ඇවැතක් වේ. (ඒ සඳහා) පඩික්කමක් අනුදැනීම.

40) පිහිය, ඊට වැස්ම, මිට සහිත පිහිය අනුදැනීම.

41) වටිනා (රන්-රිදී) පිහි මිට නොදැරිය යුතු. දරා නම් දුක්කට ඇවැතක් වේ. පිහි මිට සඳහා ඇට, දත්, අං, බටදඬු, හුණදඬු, ලී, ලහ, එල, ලෝහ, සක්නැබ අනුදැනීම.

42) ඉඳිකටු, ඉඳිකටු කුලාව, ඉඳිකටු මලබැඳීම වැලැක්වීමට රාබිජු සුණු, කහමුසු විළඳ සුණු, ගල් කුඩු, මී ඉටි, මී ඉටි ගෑ රෙදි කඩක් අනුදැනීම.

43) සිවුරු මැසීමට කඨිනයත් (සිවුරු හිණ), කඨින රැහැණත් (සිවුරුහිණෙහි බඳනා රැහැන), ඒ ඒ තැනැ සිවුර නමා බැඳ මසන්නටත් අනුදැනීම.

44) සම නොවූ බිම කඨිනය නො ඇතිරිය යුතුයි. අතුරා නම් දුක්කට ඇවැතක් වේ.

45) කඨිනය ඇතිරීමට තණ ඇතිරියකුත්, කොන් නොදිරීමට වාටියක් යොදා පිරිබඩ නංවන්නටත් අනුදැනීම.

46) දණ්ඩකඨිනයද, විදලකය, සලාකාව, විනන්ධන රජ්ජුව හා රැහැනද, ඒවායින් බැඳ සිවුර මසන්නටද අනුදැනීම.

47) කෝදුවත් බොරු නූල් ගැසීමත් අනුදැනීම.

48) තෙත පයින් හෝ නො සේදූ පයින් හෝ පාවහන් සහිත පයින් හෝ කඨිනය නොපෑගිය යුතු. පාගයි නම් දුක්කට ඇවැතක් වේ.

49) දිදාලය අනුදැනීම.

50) වටිනා (රන් රිදී) දිදාල නොදැරිය යුතු. දැරුවොත් දුක්කට ඇවැතක් වේ. දිදාලය සඳහා ඇට, දත්, අං, බටදඬු, හුණදඬු, ලී, ලහ, පල, ලෝහ, සක්නැබ අනුදැනීම.

51) ඉඳිකටු ආදිය දැමීමට කුඩා මල්ලකුත්, දිදාල පසුම්බියත් ඊට උර බඳනාවක් හා බඳනා නූල ද අනුදැනීම.

52) සිවුරු මැසීමට කඨින ශාලාව හා කඨින මඩුවත් ඒ ආශ්‍රිත නිමැවුම් ද අනුදැනිම.

53) කඨිනය අකුළා තබන්නටත්, දණ්ඩක් ඇතුල බහා තද කොට කඨිනය අකුලා තබන්නටත්, එය බැඳීමට බඳිනා රැහැනක්ද අනුදැනීම.

54) බිත්තියේ ගැසූ උලක හෝ ඇත් දළයක කඨිනය එල්ලා තැබීමට අනුදැනීම.

55) බෙහෙත් මල්ලත්, පාවහන් මල්ලත්, ඒවා සඳහා උර බඳනා හා බඳනා නූලත් අනුදැනීම.

56) පෙරහන් කඩත්, කිණිසි පෙරහනත්, ඩබරාවත් [1] අනුදැනීම.

57) දීර්ඝ මාර්ගයට පිළිපන් භික්ෂුවක් පෙරහන්කඩ ඉල්ලුවොත් දිය යුතුයි. නොදුන්නොත් දුක්කට ඇවැතක් වේ.

58) පෙරහන්කඩක් නොමැතිව දීර්ඝ මාර්ගයෙහි නොයා යුතු. යා නම් දුක්කට ඇවැතක් වේ. පෙරහනක් / ඩබරාවක් නොමැති නම් "මෙයින් පෙරා බොන්නෙමි"යි සිවුරු කොණ හෝ ඉටිය යුතුය.

59) මහ පෙරහනත්, ළිඳ තුල බහා දිය පෙරා ගන්නා පෙරහනත් අනුදැනීම.

60) මදුරු කුටිය අනුදැනීම (මදුරුවන්ගෙන් බේරීමට).

61) සක්මනත්, සක්මන්ශාලාවත්, ගිනිහල්ගෙයත් (ජන්තාඝරය), ඒවා ආශ්‍රිත නැමැවුම්ද අනුදැනීම.

62) කුඩා ගිනිහල්ගෙයි කෙලවරත් විශාල ගිනිහල්ගෙයි මැදත් උදුන තැබීමට අනුදැනීම.

63) උෂ්ණය වළකාලන්න මුහුණේ මැටි ගෑමටත්, ඒ සඳහා මැටි ඔරුවකුත් අනුදැනීම.

64) මැටි දුගඳ වන නිසා මැටිටෙහි සුවඳ කවන්නට අනුදැනීම.

65) කය දැවෙන නිසා ගිනිහල්ගෙයට ජලය ගෙන යාමටත් ඒ සඳහා දිය බඳුනකුත්, නැඹිලියත් අනුදැනීම.

66) ගිනිහල්පුටුව අනුදැනීම.

67) නග්න වූවෙකු විසින් නග්න වූවෙකුට නොවැන්ද යුතු. නොවැන්දවිය යුතු, පිරියම් නොකළ යුතු, පිරියම් නො කරවිය යුතු, (යමක්) නොදිය යුතු, නග්න වූවෙකු විසින් නො වැන්ද යුතු, නො වැන්දවිය යුතු, (යමක්) නො පිළිගත යුතු, නග්න වූවෙකු විසින් බුදීම, රසවිඳීම, බීම නොකළ යුතු. මේවා කෙරේ නම් දුක්කට ඇවැත් වේ.

68) ගිනිහල්ගෙයි සිවුරු තබන ශාලාවත් ඒ ආශ්‍රිත නිමැවුම්ද අනුදැනීම.

---

[1] රෙදි කඩක් බැදි භාජනයකි.

69) ගිනිහල්ගෙයි වැස්ම, දියෙහි වැස්ම, වස්ත්‍රයෙන් ඇඟ වැස්ම නමැති තුන් වැසුම් අනුදැනීම.

70) ළිඳත්, ළිං ශාලාවත් ඒ ආශ්‍රිත නිමැවුම්ද අනුදැනීම.

71) දිය ඇදීමට කඹයක් අනුදැනීම.

72) දිය ඇදීමට ආඬියා ද, කරකටකය ද (අතින් හෝ ගවයන් ලවා හෝ ඇතට ඇදගෙන යෑමෙන් දිය අදිනා යන්ත්‍රයද), (අතින් කරකවා දිය අදින) සටී යන්ත්‍රයද අනුදැනීම.

73) දිය ඇදීමට ලෝහ භාජනයද, ලී භාජනයද, සම්කඩින් කළ භාජනයද අනුදැනීම.

74) ළිං පියනත්, දිය දැමීමට දිය ඔරුවත්, දිය කටාරමත් අනුදැනීම.

75) දිය නෑම පිණිස වළක් හා ඒ ආශ්‍රිත නිමැවුම් අනුදැනීම.

76) තුවාය අනුදැනීම.

77) පොකුණත්, ඒ ආශ්‍රිත නිමැවුම්ද අනුදැනීම.

78) නිල්ලේඛ ජන්තාගාරය අනුදැනීම.

79) සිව් මසක් නිසීදනයෙන් වෙන්ව නොසිටිය යුතු. වෙන්ව සිටීනම් දුක්කට ඇවැතක් වේ.

80) මල් අතුල සයනයෙහි නො සැතැපිය යුතුය. සැතපේ නම් දුක්කට ඇවැතක් වේ

81) සුවඳ පිළිගෙන කවුළු වල පසඟුල් තැබීමටත්, මල් පිළිගෙන විහාරයේ පසෙක තැබීමටත් අනුදැනීම.

82) නමතකය අනුදැනීම.

83) පේලාවෙහි (පෙට්ටියක් වැනි උපකරණයකි) නො වැළඳිය යුතුය. වළඳානම් දුක්කට ඇවැතක් වේ.

84) ලීයෙන් කළ පාත්‍රාධාරකය අනුදැනීම.

85) එක් බඳුනෙහි නො වැළඳිය යුතු. එක් බඳුනෙන් නො පිය යුතු. එක් ඇඳෙහි නො වැතිරිය යුතු. ඒ ඇතිරියෙහි නො වැතිරිය යුතු. එක් පොරෝනයක් ඇතිව නොවැතිරිය යුතු. එක් ඇතිරියක් හා

පොරෝනයක් ඇතිව නොවැතිරිය යුතු. යමෙක් වැතිරේ නම් දුක්කට ඇවැතක් වේ.

86) කරුණු අටකින් යුත් උපාසකට පත්තනික්කුජ්ජනය කිරීමට අනුදැනීම. (කරුණු 8 නම් : භික්ෂූන්ට අලාභය පිණිස, අනර්ථය පිණිස, නොවිසීම පිණිස උත්සහ කෙරෙයි. භික්ෂූනට අක්‍රෝෂ පරිභව කෙරේ, භික්ෂූන් එකිනෙකා බිඳුවයි, බුද්ධ ධම්ම සංඝ තෙරුවනේ අගුණ කියයි)

87) රෙද්දෙන් කළ පාවඩය නොපෑගිය යුතුයි. පාගයි නම් දුක්කට ඇවැතක් වේ. මංගල පිණිස (ශුභ ඵල සඳහා) ගිහියන් විසින් ඉල්ලනු ලබන කල්හි පාගන්නට ඇනුදැනීම.

88) දෙවූ පා ඇත්තහු සඳහා එළා ඇති ඇතිරිය පෑගීමට ඇනුදැනීම.

89) අතලයද මුස්න (කොස්ස) ද අනුදැනීම.

90) මැටි පාගටනාව (කතකං) පරිභෝග නොකළ යුතුයි. පරිභෝග කෙරේ නම් දුක්කට ඇවැතක් වේ. ගල ද ගල් කැබැලිති ද මුහුදු පෙණද යන තුන් පා ගටනා අනුදැනීම.

91) විජිනි පතද තල් වැටද අනුදැනීම.

92) මදුරු විදුනාව (විජිනිය) අනුදැනීම (මදුරුවන් පලවා හැරීමට).

93) සෙමෙර විදුනාව නො දැරිය යුතුයි. දරා නම් දුක්කට ඇවැතක් වේ. වැහැරි, සුවඳහොට, මොනරපිල් විජිනිපත් තුන අනුදැනීම.

94) කුඩය (ඡත්‍රය) අනුදැනීම.

95) අගිලනාට ආරාමයෙහිත්, ආරාම උපචාරයේත් කුඩය දැරීමටත්, ගිලනට කැමති සේ කුඩය දැරීමටත් අනුදැනීම.

96) දණ්ඩ[1] හා සික්කාව (සාල්ලක්) නොදැරිය යුතුයි. දරා නම් දුක්කට ඇවැතක් වේ. දණ්ඩක් නැතිව ඇවිදීමට අපහසු ගිලනාට දණ්ඩ සම්මුතියත්, සික්කාව නැතිව පාත්‍රය ගෙන යාමට අපහසු ගිලනාට සික්කා සම්මුතියත්, දෙකම අවශ්‍ය ගිලනට දණ්ඩ සික්කා සම්මුතියත් දීමට අනුදැනීම.

[1] දණ්ඩ යනු තමාට වඩා උසින් වැඩි වූ සැරයටියයි.

97) ප්‍රකෘතියෙන් වමාරා ගිලින්නාට ඒ සඳහා අනුදැනීම. නමුත් කටින් පිටතට ගෙන නැවත නොගිලිය යුතු. ගිල්ලොත් විකාල භෝජනාපත්තිය සිදු වේ.

98) දානය දෙනු ලබන කල්හි බිම වැටෙන දේ තමන්ම ගෙන වැළඳීමට අනුදැනීම. එය දායකයන් විසින් දෙන ලද දෙයකි.

99) දික් නියපොතු නොදැරිය යුතු. දරා නම් දුක්කට ඇවැතක් වේ.

100) නිය කපනය අනුදැනීම.

101) නිය ලඟ මස ඉම් කොට නිය සිඳින්නට අනුදැනීම.

102) නිය ඔප මට්ටම් නො කැරැවිය යුතු. කරවා නම් දුක්කට ඇවැතක් වේ.

103) දැලි පිහිය, කරගල, දැලිපිහි කොපුව, එය ඔතන රෙදිකඩ හා සියළු කර බඩු (කෙස් රැවුල් බෑමට අවශ්‍ය උපකරණ) අනුදැනීම.

104) මෝස්තර වලට රැවුල නොකැපිය යුතු. පපුවේ හෝ සම්බාධ ස්ථාන වල ලෝම නො බෑවිය යුතු. ඒවා කළොත් දුක්කට ඇවැත් වේ.

105) ආබාධ ඇති කල්හි සම්බාධ ස්ථාන වල ලෝම බෑමට අනුදැනීම.

106) කතුරින් කෙස් නොකැපිය යුතු. කපා නම් දුක්කට ඇවැතක් වේ.

107) ආබාධ ඇති කල්හි කතුරින් කෙස් කැපීමට අනුදැනීම.

108) නැහැයෙහි දික් ලොම් නො දැරිය යුතු. දරා නම් දුක්කට ඇවැතක් වේ. ඒවා ගැලවීමට අඬුව අනුදැනීම.

109) සුදු කෙස් නොගැලවිය යුතු. යමෙක් උදුරවන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

110) කන් හැන්ද අනුදැනීම.

111) වටිනා (රන්-රිදී) කන්හැඳි නොදැරිය යුතුයි. දැරුවොත් දුක්කට ඇවැතක් වේ. ඇට, දත්, අං, බටදඬු, හුණදඬු, ලී, ලහ, ඵල, ලෝහ, සක්නැබ ආදියෙන් කළ කන්හැඳි අනුදැනීම.

112) ලෝහ භාණ්ඩ, පිත්තල භාණ්ඩ එක් රැස් නොකළ යුතුයි. එක් රැස් කරන්නේ නම් දුක්කට ඇවැතක් වේ. ඒවායින් කළ අඳුන් නලය ද, අඳුන් කූරු, කන් හැන්ද ද, වෑ ආදියට මිට ද අනුදැනීම.

113) සංඝාටිපල්ලත්ථිකායෙන් නො හින්ද යුතු. හිඳින්නේ නම් දුක්කට ඇවැතක් වේ.

114) ආයෝගපට අනුදැනීම (ගිලන් බව නිසා).

115) එය වියන්නට සියළු වියන උපකරණ අනුදැනීම.

116) සිවුරු පටිය නැතිව ගමට නොපිවිසිය යුතු. පිවිසේ නම් දුක්කට ඇවැතක් වේ. සිවුරු පටිය අනුදැනීම.

117) කුඩු මහත් සිවුරු පටි නොදැරිය යුතු. දරා නම් දුක්කට ඇවැතක් වේ. පට්ටිකාවද සූකරන්තකයද අනුදැනීම.

118) සිවුරු පටියට වීය්ය අනුදැනීම.

119) වටිනා වීය් (රන්-රිදී) නොදැරිය යුතුයි. දරානම් දුක්කට ඇවැතක් වේ. ඇට, දත්, අං, බටදඬු, හුණදඬු, ලී, ලහ, එල, ලෝහ, සක්නැබ ආදියෙන් කළ වීය් අනුදැනීම.

120) (සිවුරෙහි) ගණ්ඨිකාවද පාසකයද අනුදැනීම.

121) වටිනා ගණ්ඨිකා (රන් රිදී) නොදැරිය යුතුය. දරා නම් දුක්කට ඇවැතක් වේ. ඇට, දත්, අං, බටදඬු, හුණදඬු, ලී, ලහ, එල, ලෝහ, සක්නැබ ආදියෙන් කළ ගණ්ඨිකා අනුදැනීම.

122) ගණ්ඨිකාව හා පාසකය ඇල්ලීමට රෙදි කැබලි 2ක් අනුදැනීම. ගණ්ඨිඵලකය සිවුර කෙලවරද, පාසකඵලකය සතඟුලක් හෝ අටඟුලක් සිවුර ඇතුලට කර ඇල්ලීමටද අනුදැනීම.

123) ගිහියන් අඳින ආකාරවලට අඳනය නො හැන්ද යුතු. හඳී නම් දුක්කට ඇවැතක් වේ.

124) අමුඩය නො හැන්ද යුතු. හඳී නම් දුක්කට ඇවැතක් වේ.

125) ගිහියන් පොරවන ආකාරවලට සිවුර නොපෙරවිය යුතු. පොරවයි නම් දුක්කට ඇවැතක් වේ.

126) දෙකොන් කද නොගෙන යා යුතු. ගෙන යා නම් දුක්කට ඇවැතක් වේ. එක්කොන් කදද, (මැදින් කද යෙදූ) තඩද, හිසින් උරෙන් කටියෙන් බර ගෙන යාම හා අතින් එල්ලාගෙන යෑම අනුදැනීම.

127) දැහැටි කෑම (දැහැටි කූරෙන් දත් මැදීම) අනුදැනීම.

128) දිගු දැහැටි නොවැළඳිය යුතු. වළඳා නම් දුක්කට ඇවැතක් වේ. අටඟුලට නොවැඩි දැහැටි අනුදැනීම.

129) දැහැටි කූරෙන් සාමණේරවරුනට නොගැසිය යුතු. ගසා නම් දුක්කට ඇවැතක් වේ.

130) ඉතා කෙටි දැහැටි නොවැළඳිය යුතු. වළඳයි නම් දුක්කට ඇවැතක් වේ. සතරඟුලක් හෝ ඊට වැඩි දැහැටි අනුදැනීම.

131) කැළයට ගිනි නොතැබිය යුතු. තබා නම් දුක්කට ඇවැතක් වේ.

132) ලැව්ගිනි ඇවිලෙන විට ප්‍රතිගිනි දී ආරක්‍ෂා වන්නට අනුදැනීම.

133) ගස්වලට නොනැංග යුතු. නැංගොත් දුක්කට ඇවැතක් වේ.

134) කරුණක් ඇති කල්හි පුරුෂයෙකුගේ උසට ගහකට නැගීමටත්, අනතුරක දී උවමනා පමණ නැඟීමටත් අනුදැනීම.

135) බුදුවදන් ඡන්දසට නො නැඟිය යුතුය. නගා නම් දුක්කට ඇවැතක් වේ. තමන්ගේ භාෂාවෙන් බුද්ධවචනය ඉගෙනීමට අනුදැනීම.

136) ලෝකායත ශාස්ත්‍ර හෝ තිරශ්චීන විද්‍යා ඉගෙනීම හෝ පාඩම් කිරීම නොකළ යුතුය. කෙරේ නම් දුක්කට ඇවැතක් වේ.

137) කිවිසුමක් ගිය කල්හි "(බෙහෝ කල්) ජීවත් වේවා"යි නොකිය යුතු. කියා නම් දුක්කට ඇවැතක් වේ. ගිහියන් එසේ කී කල "බොහෝ කල් ජීවත් වෙව"යි ('ආයු බෝ වේවායි') පිළිවදන් දීමට අනුදැනීම.

138) ලසුනං ((මගධ)සුදුලූනු) නො කෑ යුතු. කන්නේ නම් දුක්කට ඇවැතක් වේ. ආබාධ සඳහා වැළඳීමට අනුදැනීම.

139) කැසිකිලි කිරීමට තැනක්, වටන් දෙණක්, පියනක්, පාදුකා හා එතැන නොපෙනෙන ලෙස වටකිරීමටද අනුදැනීම.

140) වැසිකිලියක් හා ඒ ආශ්‍රිත නිමැවුම්ද, පුසන් දඬුද ඒවා දැමීමට භාජනයක්ද, ඊට පියනක්ද අනුදැනීම.

141) මල දෝණට දිය බඳුනක්, ඊට පියනක්, දිය ගැනීමට සරාවක්, පාදුකා හා එතැන පරික්ෂේප කිරීමටද අනුදැනීම.

142) ආයුධ හැර සියළු ලෝහ භාණ්ඩද, දික්සඟලා පුටුවත් (ආසන්දිං), පල්ලංකයත්, ලීයෙන් කළ පාත්‍රයත්, පාදුකාත් හැර සියළු ලී භාණ්ඩද, කතකං (මැටි පාපිස්නාව) හා සියල්ල මැටියෙන් කළ කුටියත් හැර සියළු මැටි භාණ්ඩද අනුදැනීම.

## 2 .6 සේනාසනක්ඛන්ධකය

1) ලෙන් (විසීමට තැන්) පහක් අනුදැනීම : විහාරය, ගුරුළු පියාපත් වැනි සෙවෙනි ඇති ගෙයද, ප්‍රාසාදය, සඳලු සහිත ගෙය, ගුහාව.

2) විහාරය සඳහා දොර පළුව අනුදැනීම.

3) දොරබාව, වටෙවුලීය, උතුරුලීය, දොර අදින රැහැනද, දොර පොල්ලද, අගුල් කණුව, යතුරු, තරංකයද, කෙසි සිදුරද, ලෝහ - ලී - අං යතුරුද, යතුරු ඉද්ද ද අනුදැනීම.

4) වහලට සන දඬු යොදා ඇතුලත පිටත බදාම ආලේප කරන්නට අනුදැනීම.

5) වා කවුළු (ජනෙල්) අනුදැනීම.

6) ජනෙල් රෙද්දත්, ජනෙල් පියනත් අනුදැනීම.

7) නිදාගැනීම සඳහා තණ ඇතිරියත්, පිළත්, චේවැල් ඇඳත් අනුදැනීම.

8) මසාරක (ඇඳ පා විද එහි අටනි බහා කළ) ඇඳත්, පුටුවත් අනුදැනීම.

9) බුන්දිකාබද්ධ (විට්ටම් විද එහි පා යෙදූ), කකුළු පා, අහච්චපාදක (අටනි විද එහි ඇඳ පා බහා ඇණ ලූ) ඇඳ හා පුටු ද, සතරැස් පුටුව, කවිච්චිය, උස් කවිච්චිය, චේවැල් පුටුව, උස් සතරැස් පුටුව, රෙදිකඩක් බැඳි පුටුව, පුවරු පා පුටුව, ඇඹුල් වැටි පුටුව, පුවරුව, බංකුව, පිදුරු පුටුව අනුදැනීම.

10) උස් ඇඳෙහි නො හොවිය යුතු. හොවී නම් දුක්කට ඇවැතක් වේ.

11) උස් ඇඳ පිළිපා නොදැරිය යුතු. දරා නම් දුක්කට ඇවැතක් වේ. අටඟුලට උස් නොවූ ඇඳ පිළිපා අනුදැනීම.

12) ඇඳ වියන්නටද, වියල් විද අට පා දූ හුවරුවක් සේ වියන්නටද අනුදැනීම.

13) රෙදි කඩකින් බිම අතුරන ඇතිරියක් කිරීමට අනුදැනීම.

14) පුළුන් වලින් කොට්ටයක් කිරීමට අනුදැනීම.

15) කයින් අඩක් පමණ වූ කොට්ට නොදැරිය යුතු. දරා නම් දුක්කට ඇවැතක් වේ. හිසට සරිලන ප්‍රමාණයේ කොට්ටය අනුදැනීම.

16) ලොම්, රෙදි, වැහිරි, කොළ, තණ යන මෙට්ට පහද, මෙට්ට උරයද අනුදැනීම.

17) ගුදිරි යෙදූ ඇඳ පුටු අනුදැනීම.

18) යටට රෙදි ඇතිරියක් ලා මෙට්ට දැමීමට අනුදැනීම.

19) (දුර්වර්ණ කිරීමට) උරයට බින්දු ඉසින්නටද, කහටින් ලකුණු යෙදීමටද, පසඟුල් ලකුණු යෙදීමට ද අනුදැනීම.

20) විහාරයෙහි[1] සුදුපැහැ කළුපැහැ ගුරුපැහැ පිරියම් කිරීමටද, ඒවා රැඳවීමට අවශ්‍ය පිලියම් ද අනුදැනීම.

21) විහාරයෙහි ස්ත්‍රීරූප පුරුෂරූප යන ප්‍රතිභාන චිත්‍ර නොකරවිය යුතු. කරවානම් දුක්කට ඇවැතක් වේ.

22) විහාරයෙහි මල්කම් ලියකම් මුවර දත් පස්වණක් පැහැ කිරීම් ද අනුදැනීම.

23) විහාරය ආශ්‍රිත අනෙක් නිමැවුම් අනුදැනීම.

24) විහාරයට තිරය, අඩබිත්තිය හා කාමරය අනුදැනීම.

25) කුඩා විහාරයේ පසෙකද, විශාල විහාරයේ මැදද කාමරය තැනීමට අනුදැනීම.

26) උඩු වියනද, බිත්තියේ යෙදූ උලද, ඇත් දලයද, සිවුරුවනන රැහැනද, උණ දණ්ඩද අනුදැනීම.

27) පිළද, ආලින්දයද, වටමාලයද, පිටතට පැන්නූ වහලයද, අකුලන පැලැල්ලද, ඔසවන පැලැල්ලද අනුදැනීම.

28) (දත් වැළඳීමට) උපස්ථාන ශාලාවද, පැන් ශාලාව හා පැන් මඬුවද, ගිනිහලද (කුස්සියද), ඒවා ආශ්‍රිත නිමැවුම්ද අනුදැනීම.

29) එළිමහනෙහි සිවුරුවනන උණදණ්ඩ හා රැහැන අනුදැනීම.

30) පැන් ගැනීමට පැන් සකද පැන් සරාවද අනුදැනීම.

---

[1] භික්ෂූන් වසන කුටිය

31) ආරාමය සඳහා හුණුවැට, වැටකේ වැට හා අගල යන ඇවුරුම් තුනද, ආරාම කොටුවක්ද, ඒවා ආශ්‍රිත නිමැවුම්ද අනුදැනීම.

32) සෙවෙනි පහක් අනුදැනීම : උළු, ගල් පුවරු, හුණුබදාම, කොළ, තණ.

33) නවකම් දීමට (නවකම් කරන්නෙක් පත්කිරීමට) අනුදැනීම.

34) වැඳීම, දැක හුනස්නෙන් නැගිටීම, ඇඳිලි බැඳීම, සාමීචිකර්මය අග්‍ර ආසනය, අග්‍ර ජලය, අග්‍ර භෝජනය වැඩිමහළු පිළිවෙලින් අනුදැනීම. සාංඝික දෙයෙහි වැඩිමහළු පිළිවෙල නොවැළැක්විය යුතුයි. වළකා නම් දුක්කට ඇවැතක් වේ.

35) නො වැන්ද යුත්තෝ දස දෙනෙකි : කලින් උපසපන් වූවහුට පසුව උපසපන් වූවා, අනුපසම්පන්නයා, නානාසංවාසක අධර්මවාදී වැඩිහිටියා, කාන්තාව, පණ්ඩකයා, පිරිවෙස් පුරන්නා, මූලායපටිකස්සනයට සුදුස්සා, මානතට සුදුස්සා, මානත පුරන්නා, අබ්භානයට සුදුස්සා.

වැඳිය යුත්තෝ තිදෙනෙකි : පසුව උපසපන් වූවහුට කලින් උපසපන් වූවා, නානාසංවාසක ධර්මවාදී වැඩිහිටියා, තථාගතයන් වහන්සේ.

36) සාංඝික නොවූ උදෙසා කරන ලද දෙයෙහි ද වැඩිමහළු පිළිවෙල නො වැළැක්විය යුතු. වළකා නම් දුක්කට ඇවැතක් වේ.

37) ගිහියන් විසින් පැනවූ (ගිහියන් සතු වූ) සුබෝපභෝගී ඇඳ පුටු වල හිඳින්නටත්, නමුත් නො වැතිරීමටත් අනුදැනීම.

38) වළඳා නොනිමි මහණ නො නැගිට්ටවිය යුතු. නැගිට්ටවන්නේ නම් දුක්කට ඇවැතක් වේ. නැගුට්ටුව හොත් ඔහු පවාරිතද වෙයි. "ගොස් ජලය ගෙනෙන්නැ"යි වැඩිහිටි භික්ෂුවට කිය යුතුය. නො ලැබේ නම් හොඳින් බත් තුළු ගිල, වැඩි මහල්ලාට ආසනය දිය යුතුය. කිසිම අයුරකින් වැඩිමහල්ලාට ආසනය නො වැළැක්විය යුතුය. වළකානම් දුක්කට ඇවැතක් වේ.

39) ගිලනා නොනැගිටුවිය යුතු. නැගිටුවා නම් දුක්කට ඇවැතක් වේ.

40) ගිලනට ගිලන් බවට සුදුසු යහනක් දෙන්නට අනුදැනීම.

41) අල්පමාත්‍ර ආබාධයෙන් සෙනසුන් නොවැළැක්විය යුතු. වළකා නම් දුක්කට ඇවැතක් වේ.

42) සෙනසුන් ගන්වන්නට අනුදැනීම. ඒ සඳහා සෙනසුන් ගන්වන්නෙකු සම්මත කිරීමට අනුදැනීම.

43) ඇඳන් ගණනින් සෙනසුන් ගන්වන්නටත්, යහන් ඉතිරි වේ නම් විහාර ගණනිනුත්, විහාර ඉතිරි වේ නම් පිරිවෙන් ගණනිනුත්, ඒත් ඉතිරි වේ නම් වැඩිපුර කොටසක් දීමටත් අනුදැනීම.

44) සීමාවෙන් පිටත සිටින්නාට සෙනසුන් නොගැන්විය යුතු. ගන්වන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

45) සෙනසුන් ගන්වාගෙන සියළු කල අන් භික්ෂූන් ඉන් වැළැක්වීම නොකළ යුතුයි. වළකානම් දුක්කට ඇවැතක් වේ. වස් තුන් මස වළකාලන්නටත් අනෙක් කාලයේ නො වැළැකීමටත් අනුදැනීම.

46) සෙනසුන් ගැන්වීම් තුනකි : පුරිමකය, පශ්චිමකය, අන්තරාමුක්තකය.

47) සෙනසුන් දෙකක් තමාට වෙන් කොට නොගත යුතුයි. ගන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

48) දහම් උගන්වන නවක භික්ෂුවට සම අසුන් හෝ උස් අසුනක් ගැනීමටත්, ඉගෙන ගන්නා ථෙර භික්ෂූන්ට සම හෝ පහත් අසුනක් ගැනීමටත් අනුදැනීම.

49) සාමානාසනිකයන් (තුන් අවුරුද්දක් අතර, එනම් උපසම්පදාවෙන් තුන් අවුරුදු කාලයකට අඩු කාලයකින් වැඩිහිටි හෝ බාල භික්ෂූන්) සමඟ එකට අසුන්ගැනීම අනුදැනීම.

50) දෙදෙනෙකුට ඇඳෙහි හෝ පුටුවෙහි එකට හිඳීමට අනුදැනීම. ඊට වැඩිය නොහිඳිය යුතු.

51) පණ්ඩකයා, කාන්තාව, උභතොබ්‍යඤ්ජනිකයා හැර අසමානාසනිකයන් හා එක්ව දීර්ඝාසනයේ හිඳීමට අනුදැනීම (අවම වශයෙන් තුන් දෙනෙකුට හිඳගත හැකි ආසනය දීර්ඝාසනයයි).

52) ප්‍රාසාද පරිභෝගය අනුදැනීම.

53) අකැප භාණ්ඩ උපන් කල්හි දික් සඟලා පුටුවේ (අසන්දිං) පා සිඳ පරිභෝග කිරීමටත්, පළඟෙහි (පල්ලංකං) වාල රූප බිඳ පරිභෝග කිරීමටත්, පුළුන් මෙට්ට ලිහා කොට්ට සෑදීමටත්, ඉතිරි දෑ බුමුතුරුණු කිරීමටත් අනුදැනීම.

54) සංඝයා විසින් හෝ ගණයා විසින් හෝ පුද්ගලයා විසින් හෝ අනෙකකුට (පුද්ගලික අයිතියට) නොදිය යුතු, දෙන ලද්දේද නො දෙන ලද්දේ වන පහකි. යමෙක් මේවා දෙන්නේ නම් ථුල්ලච්චය ඇවැතක් වේ. ඒවා නම්,
i. ආරාමය, ආරාම වත්ත

ii. විහාරය, විහාර වත්ත
iii. ඇඳ, පුටු, මෙට්ට, කොට්ට
iv. ලෝහ සැළිය, ලෝහ පැණ, ලෝහ කළය, ලෝහ කටාරම, වෑය, පොරොව, කෙටේරිය, උදල්ල, නියන
v. වැල්, හුන, මුදුතණ, බබුස් තණ, සෙසු තෘණ වර්ග, මැටි, ලී භාණ්ඩ, මැටි භාණ්ඩ.

55) ඉහත (54) සඳහන් වූ පහම නොබෙදිය හැකිය. සංඝයා විසින් හෝ ගණයා විසින් හෝ පුද්ගලයෙකු විසින් හෝ නොබෙදිය යුතු. බෙදෙන ලද්දේද නෙබෙදෙන ලද්දේ වේ. යමෙක් බෙදන්නේ නම් ථුල්ලච්චය ඇවැතක් වේ.

56) ස්වල්ප මාත්‍ර වූ වැඩවලට ද, වසර විස්සකට තිහකටද, ජීවිත කාලයටම ද, දර ගොඩකින් දුම් නැගෙන කාලයකට ද, වැඩ නිම කළ විහාරයටද නවකම්ම සම්මුතිය නොදිය යුතුයි. දේ නම් දුක්කට ඇවැතක් වේ.

57) නොකරන ලද හෝ වැඩ අඩාල වූ හෝ විහාරයෙහි නවකම්ම දීමට ද, කළයුතු වැඩ කොටස බලා සුදුසු කලකට නවකම්ම දීමට ද අනුදැනීම.

58) සියලු විහාරය සඳහා නවකම්ම සම්මුතිය නොදිය යුතුයි. දේ නම් දුක්කට ඇවැතක් වේ.

59) එක මහණකුට නවකම්ම සම්මුති දෙකක් නොදිය යුතු. දේ නම් දුක්කට ඇවැතක් වේ.

60) නවකම්ම ගෙන වෙන භික්ෂුවක් එහි නොවැස්විය යුතු. වස්වන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

61) නවකම්ම ගෙන සාංඝික දේ තමන්ට වෙන් කර නොගත යුතු. වෙන් කර ගනී නම් දුක්කට ඇවැතක් වේ. එක් හොඳ සයන ස්ථානයක් වෙන් කර ගන්නට අනුදැනීම.

62) සීමාවෙන් බැහැර සිටින්නාට නවකම්ම සම්මුතිය නොදිය යුතු. දේ නම් දුක්කට ඇවැතක් වේ.

63) නවකම්ම ගෙන සියළු කාලයෙහි ඒ ස්ථානය තමාට වෙන් කර නොගත යුතු. වෙන් කර ගනී නම් දුක්කට ඇවැතක් වේ. වස් තුන් මාසයේ වෙන්කර ගන්නටත් අනෙක් කාලයේ සංඝයා නොවළකන්නටත් අනුදැනීම.

64) නවකම්ම ගෙන, වැඩ නොනිමවා බැහැර යේද, සිවරු හරීද, අපවත් වේද, සාමණේර වේද, අභව්‍යයෙකු යැයි පිළින කෙරේද, 'සඟ සතු දේ නො නැසේවා'යි වෙන කෙනෙකුට නවකම්ම සම්මුතිය දිය යුතුය.

65) එක් තැනක ප්‍රයෝජනයට දුන් සෙනසුන් වෙන තැනක පරිභෝග නොකළ යුතුයි. කෙරේ නම් දුක්කට ඇවැතක් වේ.

66) තාවකාලිකව හෝ ආරක්ෂාව සඳහා සෙනසුන් වෙන තැනකට ගෙන යෑම අනුදැනීම.

67) වටිනා කම්බලක් හා වස්ත්‍රයක් ලැබුණු කල ඒවා වඩා ප්‍රයෝජනවත් දෙයකට මාරු කර ගැනීමට අනුදැනීම.

68) වලස් සම, චක්කලිකාව හා රෙදි කඩ පා පිස්නා කිරීමට අනුදැනීම.

69) නොසේදූ හෝ තෙත් වූ පයින් හෝ පාවහන් දරා හෝ සෙනසුන් නොපෑගිය යුතු. පා ගා නම් දුක්කට ඇවැතක් වේ.

70) පිරියම් කළ බිම කෙළ නොගැසිය යුතු. ගසා නම් දුක්කට ඇවැතක් වේ. පඩික්කම අනුදැනීම.

71) පිරියම් කළ බිම සීරීම වැළැක්වීමට ඇඳ පුටු පා රෙදිකඩින් වෙලන්නට අනුදැනීම.

72) පිරියම් කළ බිත්තියට හේත්තු නොවිය යුතුයි. හේත්තු වේ නම් දුක්කට ඇවැතක් වේ. හේත්තු වන පුවරුවක්, බිම හා බිත්තිය හීරීම වැළැක්වීමට දෙකෙලවර රෙදිකඩින් වෙලා පාවිච්චි කිරීමට අනුදැනීම.

73) පච්චත්ථරණයක් එළා ඇඳේ හොවින්නට අනුදැනීම.

74) සඟ බතද, උදෙසා දෙන බතද, ආරාධනා කොට දෙන බතද, සලාක බතද, පක්ෂයකට වරක් දෙන බතද, පොහෝ බතද, පැළවී බතද අනුදැනීම.

75) භත්තුද්දේසක, සෙනසුන් පනවන්නෙක්, භාණ්ඩාගාරික, සිවුරු පිළිගන්නෙක්, සිවුරු බෙදන්නෙක්, කැඳ බෙදන්නෙක්, පලතුරු බෙදන්නෙක්, කැවිලි බෙදන්නෙක්, (භාණ්ඩාගාරයෙහි ඇති) අල්පමාත්‍ර දේ බෙදන්නෙක්, වැසිසළු ගන්වන්නෙක්, පාත්‍ර ගන්වන්නෙක්, කැපකරුවන්ට වැඩ බාර දෙන්නෙක්, සාමණේරවරුන්ට වැඩ බාරදෙන්නෙක් සම්මත කරන්නට අනුදැනීම.

## 2 .7 සංඝභේදකක්ඛන්ධකය

1) දේවදත්තට පකාසනීය (ප්‍රකාශන) කර්මය කිරීමටත්, ප්‍රකාශකයෙකු සම්මත කිරීමටත් අනුදැනීම.

2) තික භෝජනය පැනවීම (ගණ භෝජනයේ යථා පරිදි කරවිය යුතුයි. පැනවීමට හේතු වූ කරුණු තුන ඃ

   i. දුසිල් පුද්ගලයන්ට නිග්‍රහ පිණිසත්, සිල්වත් භික්ෂූනට පහසු විහරණය පිණිසත්,

   ii. පාපී අදහස් ඇති මහණුහු නිසා සංඝයා නොබිඳේවා කියාත්,

   iii. කුලයන් (දායකයන්) කෙරෙහි දයාවෙනුත්)

3) සංඝ භේදකානුවත්තක (සංඝ භේදය කරනු ලබන්නාට අනුව පවතින) භික්ෂුවට ථුල්ලච්චය ඇවැතක් වේ. (මෙම ථුලසි ඇවැත සිදුවන්නේ භේදවීමක් පෙරදැරි කරගෙන වර්ගව වර්ග-සඤ්ඤීව පොහොය කිරීම නිසා බව පෙනේ.)

(අපායික හා අපායික නොවන සංඝභේද පිළිබඳ විස්තර මෙම ඛන්ධකයේ විස්තර කෙරේ)

## 2 .8 වත්තක්ඛන්ධකය

1) බොජුන් හලේදී (ගිහියන් දානය පිළිගන්වන තැන) අනුමෝදනා බණ කීමටත් එය තෙරුන් වහන්සේට කිරීමටත් අනුදැනීම.

2) එම අනුමෝදනාව අවසන් වනතුරු ථේර අනුථේර හතර පස් නමකට රැඳී සිටීමට අනුදැනීම.

3) ඒ සිටින නමකට හේතුවක් ඇති කල්හි ලඟ සිටින මහණට දන්වා යාමට අනුදැනීම.

4) ගිනිහල්ගෙයිහි ස්ථවිර භික්ෂූන් විසින් වළකනු ලබන කල්හි අනාදර බව පිණිස බොහෝ දර දමා ගිනි නොදැල්විය යුතු. දල්වා නම් දුක්කට ඇවැතක් වේ.

5) එසේම දොර වසා දොරකඩ (අවහිර වන සේ) නොඉන්ද යුතු. හිඳී නම් දුකක්ට ඇවැතක් වේ.

6) මල පහකොට දිය ඇති කල සේදිය යුතුයි. නොසෝදා නම් දුකක්ට ඇවැතක් වේ.

7) වැසිකිළිය වැඩිහිටි පිළිවෙලින් පාවිච්චි නොකළ යුතුයි. එසේ පාවිච්චි කෙරේ නම් දුක්කට ඇවැතක් වේ. ආ පිළිවෙලින් වැසිකිළිය පාවිච්චි කිරීමට අනුදැනීම.

( 1. අගන්තුක වත — 2 . ආවාසික වත
3. බොජුන්හල වත — 4 . පිණ්ඩචාරික වත
5. ආරණ්‍යක වත — 6 . සෙනසුන් වත
7. ගිනිහල්ගෙයි වත — 8 . වැසිකිළි වත
9. උපාධ්‍යාය වත — 10 . සද්ධිවිහාරික වත
11. ආචාර්යය වත — 12 . අන්තේවාසික වත

යන වත් මෙම ඛන්ධකයේ විස්තර කෙරේ)

## 2 .9 පාතිමොක්ඛට්ඨපනක්ඛන්ධකය

1) ඇවැත් සහිතයා සමඟ පාමොක් නො ඇසිය යුතුයි. අසා නම් දුක්කට ඇවැතක් වේ. ඇවැත් සහිතයෙක් පාමොක් අසා නම් ඔහුගේ පාමොක් තැබීමට අනුදැනීම.

2) ආපත්තියක් නොමැතිව, හේතුවක් කාරණයක් නොමැතිව, පිරිසිදු භික්ෂුවගේ පාමොක් නොතැබිය යුතුයි. තබන්නේ නම් දුක්කට ඇවැතක් වේ.

(ප්‍රාතිමෝක්ෂය තැබීමට සුදුසු පුද්ගලයන් දස දෙනාත්, චෝදනා කරන භික්ෂුවක් වෙත තිබිය යුතු ගුණාංගත්, මෙම ඛන්ධකයේ විස්තර කෙරේ)

## 2 .10 භික්ඛුනීක්ඛන්ධකය

1) කාන්තාවකට වැඳීම, දැක හුනස්නෙන් නැගී සිටීම, ඇඳිලි බැඳීම, සාමීචිකර්මය නොකළ යුතුයි. කෙරේ නම් දුක්කට ඇවැතක් වේ.

2) භික්ෂූන් භික්ෂුණීන්ට පාමොක් නො උදෙසිය යුතුයි. උදෙසා නම් දුක්කට ඇවැතක් වේ. මෙහෙණියන්ම මෙහෙණුන්ට පාමොක් උදෙසීමටත්, උදෙසන ආකාරය භික්ෂූන් විසින් මෙහෙණුන්ට කියා දීමටත් අනුදැනීම.

3) මෙහෙණුන් විසින් ඇවැතට පිළියම් නොකළ යුතු නොවේ. නොකරයි නම් දුක්කට ඇවැතක් වේ. ඇවැතට පිළියම් කරන ආකාරය භික්ෂූන් විසින් මෙහෙණුන්ට කියා දීමට අනුදැනීම.

4) භික්ෂූන් භික්ෂුණීන්ගේ ඇවැත් නොපිළිගත යුතුය. පිළිගනී නම් දුක්කට ඇවැතක් වේ. මෙහෙණුන්ම මෙහෙණියන්ගේ ඇවැත් පිළිගැනීමටත්, ඇවැත් පිළිගන්නා ආකාරය භික්ෂූන් විසින් භික්ෂුණීන්ට කියා දීමටත් අනුදැනීම.

5) මෙහෙණුන්ට විනයකර්ම කිරීමට අනුදැනීම.

6) භික්ෂූන් භික්ෂුණීන්ට විනයකර්ම නොකළ යුතුයි. කෙරේ නම් දුකක්ට ඇවැතක් වේ. මෙහෙණියන් විසින් මෙහෙණියන්ට විනයකර්ම කිරීමටත්, විනයකර්ම කරන ආකාරය භික්ෂූන් විසින් භික්ෂුණීන්ට කියා දීමටත් අනුදැනීම.

7) භික්ෂූන්ට භික්ෂුණීන්ගේ අධිකරණ සංසිඳුවීමට අනුදැනීම.

8) භික්ෂූන් විසින් මෙහෙණුන්ට විනයකර්මය නංවා මෙහෙණුන් විසින්ම විනයකර්මය කිරීම සඳහා පවරා දීමට අනුදැනීම.

9) භික්ෂූන් විසින් මෙහෙණුන්ට ඇවැත් නංවා මෙහෙණුන්ගේ ඇවැත් මෙහෙණුන් විසින්ම පිළිගැනීම සඳහා පවරා දෙන්නට අනුදැනීම.

10) භික්ෂූන් විසින් භික්ෂුණීන්ට විනය ඉගැන්වීමට අනුදැනීම.

11) භික්ෂුවක් භික්ෂුණියකට මඩදිය නොඉසිය යුතුයි. ඉසී නම් දුක්කට ඇවැතක් වේ. එම භික්ෂුව "භික්ෂුණී සංඝයා විසින් නොවැන්ද යුත්තෙක්" කොට දඬුවම් කිරීමට අනුදැනීම.

12) භික්ෂුවක් භික්ෂුණීන්ට කය, කළවා, අංගජාතය විවර කොට නොපෙන්විය යුතුයි. මෛවුන්දම් නිසි බස් නොකිය යුතුය. මෙහෙණින් පුරුෂයන් හා එකට නොයෙදිය යුතුයි. ඒවා කෙරේ නම් දුක්කට ඇවැත් වේ. එම භික්ෂුව "භික්ෂුණී සංඝයා විසින් නොවැන්ද යුත්තෙක්" කොට දඬුවම් කිරීමට අනුදැනීම.

13) භික්ෂුණියක් භික්ෂූන්ට මඩදිය නොඉසිය යුතුයි. ඉසී නම් ඇයට දුක්කට ඇවැතක් වේ. ඇයට වෙහෙරට පිවිසීම වළක්වා දඬුවම් කිරීමටද, එය නොසළකා නම් ඇයගේ අවවාදය (ඔවාදං) තැබීමටද අනුදැනීම.

14) භික්ෂුණියක් භික්ෂූන්ට කය, තන, කළවා, අංගජාතය විවර කොට නොපෙන්විය යුතුයි. මෛවුන්දම් නිසි බස් නොකිය යුතුයි. භික්ෂූන් ස්ත්‍රීන් හා නොයෙදිය යුතුයි. ඒවා කෙරේ නම් ඇයට දුක්කට ඇවැත් වේ. ඇයට වෙහෙරට පිවිසීම වළකා දඬුවම් කිරීමටද, එය නොසළකා නම් අවවාදය තැබීමටද අනුදැනීම.

15) එම අධිරකණය සන්සිඳෙන තුරු අවවාද තැබූ මෙහෙණ හා භික්ෂුණී සංඝයා පොහොය නොකළ යුතුය.

16) මෙහෙණකගේ අවවාදය තබා චාරිකාවේ නොයෑ යුතුය. යමෙක් යා නම් ඔහුට දුක්කට ඇවැතක් වේ.

17) අනුවණ අව්‍යක්ත මහණ මෙහෙණකගේ අවවාදය නොතැබිය යුතු. තබා නම් ඔහුට දුක්කට ඇවැතක් වේ.

18) අවස්තුවෙන් කරුණක් නැතිව අවවාද නොතැබිය යුතු. තබා නම් ඔහුට දුක්කට ඇවැතක් වේ.

19) අවවාද තබා විනිශ්චය නොදේ නම් ඔහුට දුක්කට ඇවැතක් වේ.

20) අවවාද සඳහා භික්ෂුණීන් දෙතුන් දෙනෙකුට යාමට අනුදැනීම. ඊට වඩා ගියොත් දුක්කට ඇවතක් වේ.

21) ඔවාද සම්මුතිය නොපිළිගත යුතු නොවේ. නොපිළිගන්නේ නම් ඔහුට දුක්කට ඇවැතක් වේ.

22) අඥාන හෝ ගිලන් හෝ ගමනක් යාමට සිටින හෝ භික්ෂුව හැර අන් අයට ඔවාද සම්මුතිය පිළිගැනීමට අනුදැනීම.

23) ආරණ්‍යයක භික්ෂුවටද ඔවාද සම්මුතිය පිළිගැනීමට හා අවවාද කරන තැන පිළිබඳව සංකේතයක් කිරීමට අනුදැනීම.

24) ඔවාද සම්මුතිය ගෙන ඒ බව නොකියා සිටිය යුතු නොවේ. නොකියා නම් ඔහුට දුක්කට ඇවැතක් වේ.

25) ඔවාද සම්මුතිය ගෙන ඒ බව පෙරළා නොදන්විය යුතු නොවේ. නොදන්වා නම් ඔහුට දුක්කට ඇවැතක් වේ.

26) සංකෙත කළ තැනට භික්ෂුණිය නොයා සිටිය යුතු නොවේ. නොයා නම් ඇයට දුක්කට ඇවැතක් වේ.

27) මෙහෙණක් දිගු බඳ පටියක් නොදැරිය යුතුයි. දරා නම් දුක්කට ඇවැතක් වේ. එක් වෙළුම් පටක් ඇති බඳ පටිය අනුදැනීම.

28) මෙහෙණ කිසිවකින් හෝ ඉළ ඇට නවානම් දුක්කට ඇවැතක් වේ.

29) මෙහෙණියක් ගව කෙණ්ඩා ඇටයෙන් කටි පෙදෙස නො ඇතිල්ලිය යුතු, ගව හනු ඇටයෙන් කටි පෙදෙස, අත, පිටි අත, පය, පිටිපය, කලවා, මුහුණ, දත් මස නොකෙටවිය යුතු. කොටවා නම් දුක්කට ඇවැතක් වේ.

30) මෙහෙණියක් මුහුණෙහි ආලේපන ගෑම, ලකුණු තැබීම, පැහැ ගැන්වීම, සිනිඳු කිරීම, පුයර ගෑම හා ඇඟ පාට කිරීම නොකළ යුතු. කෙරේ නම් ඇයට දුක්කට ඇවැතක් වේ.

31) මෙහෙණක් විසින් මුහුණේ විසිතුරු රේඛා ඇඳීම, වෙළඳාමේ යෙදීම, පොලී කිරීම, නැටීම, කවුළුවෙන් වීථිය දෙස බලා සිටීම, දොර හැර ඇඟ දක්වමින් සිටීම, ගණිකාවක් එළවා සිටුවීම, දැසි දාස කම්කරු හා තිරිසනුන් එළවා තැබීම නොකළ යුතු. කෙරේ නම් ඇයට දුක්කට ඇවැත් වේ.

32) මුළුමනින් නිල්, කහ, රතු, මදටියවන්, කළු, රත්වැපිට පැහැ, මිශ්‍ර පැහැ සිවුරු හෝ විසිතුරු කළ සිවුරු නොදැරිය යුතුයි. සැට්ට හෝ රුක් සුඹුළු හෝ නොදැරිය යුතුයි. දරා නම් ඇයට දුක්කට ඇවැතක් වේ.

33) භික්ෂුණියක්, සික්ඛමානාවක්, සාමණේරියක් මිය යන විට "මාගේ දෑ මගෙන් පසු සංඝයාට වේවා"යි කියා ද, භික්ෂුණී සංඝයාට අයත් ය. භික්ෂුවක්, සාමණේරයෙක්, උපාසකයෙක්, උපාසිකාවක් හෝ වෙනත් කෙනෙක් "මාගේ දෑ මගෙන් පසු සංඝයාට වේවා"යි කියා නම් භික්ෂු සංඝයාට වේ.

34) භික්ෂුණියක් භික්ෂුවකට පහරක් දේ නම් ඇයට දුක්කට ඇවැතක් වේ. භික්ෂුණියක් විසින් මහණෙක් දැක දුරදීම මඟින් ඉවත් වී මඟ දීමට අනුදැනීම.

35) මෙහෙණක් පාත්‍රයෙන් ගැබක් ගෙන ගියොත් දුක්කට ඇවැතක් වේ. මෙහෙණක් භික්ෂුවක් දක ඔහුට පාත්‍රය පෙන්වීමට අනුදැනීම.

36) මෙහෙණ මහණෙකු දක පාත්‍රය පෙරළා අඩිය නොදක්විය යුතු. දක්වා නම් දුක්කට ඇවැතක් වේ. උඩුකුරු පාත්‍රය පෙන්වා එහි ඇති දැයින් නිමන්ත්‍රනය කිරීමට අනුදැනීම.

37) මෙහෙණක් පුරුෂනිමිත්ත දෙස සිත් එළවා නොබැලිය යුතු. බලා නම් ඇයට දුක්කට ඇවැතක් වේ.

38) තමුන්ගේ පරිභෝගය සඳහා දුන් දේ අන්‍යයන්ට නොදිය යුතුයි. දේ නම් දුක්කට ඇවැතක් වේ. ආමිස බොහෝ වැඩි පුර ලැබුණේ නම් සංඝයාට දීමටත්, තවත් වැඩි නම් පුද්ගලිකව දීමටත් අනුදැනීම.

39) භික්ෂූන් විසින් සන්නිධි කළ ආමිස භික්ෂුණීන් විසින් පිළිගන්වා ගෙන වැළඳීමට අනුදැනීම.

40) භික්ෂුණීන් විසින් සන්නිධි කළ ආමිස භික්ෂූන් විසින් පිළිගන්වා ගෙන වැළඳීමට අනුදැනීම.

41) භික්ෂූන් විසින් භික්ෂුණීන්ට තාවකාලිකව සෙනසුන් දීමට අනුදැනීම.

42) ඔසප් වූ භික්ෂුණිය මෙට්ට සහිත ඇඳ පුටුවල නො හිඳිය යුතු, නො හොවිය යුතු. හිඳී නම් හෝ හොවී නම් හෝ දුක්කට ඇවැතක් වේ. ඔවුනට ආවසථචීවරය අනුදැනීම.

43) ඔසප් වන මෙහෙණට ආණි චෝලකයත්, එය නූලකින් කළවා වල බැඳීමටත්, රඳවා ගැනීමට කටිනූල හා අමුඩයත් අනුදැනීම.

44) මෙහෙණක් හැම විටම කටිනූල නො දැරිය යුතු. දරා නම් ඇයට දුක්කට ඇවැතක් වේ. ඔසප් වූ මෙහෙණට කටිනූල අනුදැනීම.

45) උපසම්පදා අපේක්ෂිකාවගෙන් 24ක් වූ අන්තරායකර ධර්ම විමසීමට අනුදැනීම.

46) භික්ෂුණියන් අතර උපසම්පදා වී පිරිසිදු වූ තැනැත්තිය භික්ෂූන් විසින් උපසම්පදා කිරීමට අනුදැනීම.

47) පසෙකට ගෙන අනුශාසනා කර පසුව භික්ෂුණී සංඝයා මැද අන්තරායකර ධර්ම විමසීමට අනුදැනීම.

48) අණුවන අව්‍යක්ත භික්ෂුණිය අනුශාසනා නොකළ යුතුයි. කෙරේ නම් දුක්කට ඇවැතක් වේ. ව්‍යක්ත ප්‍රතිබල භික්ෂුණියට අනුශාසනා කිරීමට අනුදැනීම.

49) සම්මත නොකළ මෙහෙණ අනුශාසනා කළොත් දුක්කට ඇවැතක් වේ. සම්මත කළ මෙහෙණට අනුශාසනා කිරීමට අනුදැනීම.

50) බත් හලෙහි මෙහෙණන් අට නමකට වැඩිමහලු පිළිවෙලින් අසුන් ගැනීමටත් සෙසු මෙහෙණන්ට පැමිණි පිළිවෙලින් අසුන් ගැනීමටත් අනුදැනීම. අන් සැම තැන්හි වැඩිමහලු පිළිවෙළ අත් නොහළ යුතුයි. අත්හරීනම් දුක්කට ඇවැතක් වේ.

51) භික්ෂුණීන් භික්ෂූන් හා එකට පවාරණය නොකළ යුතුය. එකට පවරා නම් ඇයට දුක්කට ඇවැතක් වේ.

52) අද දින භික්ෂුණී සංඝයා පවරා පසු දින භික්ෂු සංඝයා පැවැරීමට අනුදැනීම. භික්ෂුණී සංඝයා වෙනුවෙන් භික්ෂු සංඝයා පැවැරීමට එක් භික්ෂුණියක් සම්මත කිරීමට අනුදැනීම.

53) භික්ෂුණියක් භික්ෂුවකගේ උපෝසථය තැබීම, පවාරණය තැබීම, සවචනීය කිරීම, අවවාද කිරීම, චෝදනා කිරීමට අවකාශ කිරීම, චෝදනා කිරීම, වරද සිහි කිරීම යන මේවා නොකළ යුතුය. කළත් නොකරන ලද්දේම වේ. කරන්නියට දුක්කට ඇවැතක් වේ. නමුත් භික්ෂුවක් විසින් මේවා භික්ෂුණියකට කිරීම අනුදැනීම.

54) මෙහෙණ (සතුන් යෙදූ) යානයෙන් නොයා යුතුයි. යා නම් දුක්කට ඇවැතක් වේ. ගිලන් මෙහෙණට පිරිමි සතුන් යෙදූ හෝ ගැහැණු සතුන් යෙදූ හෝ අතින් අදිනා හෝ යානය අනුදැනීම.

55) ගිලන් මෙහෙණට සිවිකාවත් පල්ලැක්කියත් අනුදැනීම.

56) ව්‍යක්ත ප්‍රතිබල භික්ෂුණියක් දූත වූ කල්හි දූතයෙකු මඟින් භික්ෂුණියක් උපසම්පදා කිරීමට අනුදැනීම. භික්ෂුවක්, සික්ඛමානාවක්, හෙරණක්, හෙරණියක්, අඥාන අව්‍යක්ත භික්ෂුණියක් දූත වූ කල්හි උපසම්පදා නොකළ යුතුය. කෙරේ නම් දුක්කට ඇවැතක් වේ.

57) භික්ෂුණී සංඝයාට භාණ්ඩශාලාව, මෙහෙණවර, නවකර්ම හා පුද්ගලිකව කුටි ඉදි කිරීමට අනුදැනීම.

58) මෙහෙණියන් කැළයේ නොවිසිය යුතු. වෙසේ නම් දුක්කට ඇවැතක් වේ.

59) ගැබ්ගත් බව නොදන පැවිදිව දරුවා ලැබූ පසු නුවණැති බවට පත් වන තුරු දරුවා පෝෂණය කිරීමටත්, ඇයට දෙවැන්නියක් සම්මත කර දීමටත් අනුදැනීම. දෙවැන්නිය එක ගෙයි නිදීම හැර අන් පුරුෂයෙකු කෙරෙහි යම් සේ පිළිපදී ද, එලෙස ඒ දරුවා කෙරෙහි පිළිපදින්නට අනුදැනීම.

60) මානත පුරන භික්ෂුණියකට දෙවැන්නියක් සම්මත කර දීමට අනුදැනීම.

61) මෙහෙණන්ට ශික්ෂාව ප්‍රතික්ෂේප කිරීමක් නැත. සිවුරු හැරලූ කලම අභික්ෂුණියක් වන්නීය.

62) සිවුර පිටින් තීර්ථායතනයකට ගිය මෙහෙණක් නැවත පැමිණියද උපසම්පදා නොකළ යුතුය.

63) මෙහෙණන්ට පුරුෂයින්ගේ වැඳීම, කෙස් සිඳීම, නිය සිඳීම, තුවාල පිළියම් ඉවසීමට අනුදැනීම.

64) භික්ෂුණියක් පර්යංකයෙන් නො හින්ඳ යුතු. හිඳී නම් දුක්කට ඇවැතක් වේ. අර්ධ පර්යංකය අනුදැනීම.

65) මෙහෙණියන් වැසිකිළියක් භාවිතා නොකළ යුතුයි. කෙරේ නම් ඇයට දුක්කට ඇවැතක් වේ. යට විවර වූ මත්තෙහි වසන ලද තැන වැසිකිළි කිරීමට අනුදැනීම.

66) මෙහෙණක් සුණුයෙන් හා සුවඳ කැව් මැටිවලින් නොනෑ යුතු. නැවොත් දුක්කට ඇවැතක් වේ. කුඩුත්, ප්‍රකෘති මැටිත් අනුදැනීම.

67) මෙහෙණක් ගිනිහල්ගෙයි හෝ ඇළක ගංගාවක උඩුගං අතට හැරී හෝ නොතොටෙහි හෝ නො නෑ යුතු. නහන්නී නම් දුක්කට ඇවැත් වේ.

68) පුරුෂයන්ගේ තොටෙහි නැවොත් නහන්නියට දුක්කට ඇවැතක් වේ. කාන්තා තොටෙහි නෑමට අනුදැනීම.

## 1. භික්ඛු විභඞ්ගයේ පැමිණෙන, පාමොක් උදෙසීමට ඇතුලත් නොවන කුඩා ශික්ෂාපද හා අනුදැන වැදෑරීම්

1) දහවල සැතපෙන්නහු විසින් දොර වසා සැතපෙන්නට අනුදැනීම. (1 වන පාරාජිකා ශික්ෂාපදයෙහි පැමිණේ)

2) සියල්ල මැටියෙන් කළ කුටියක් නොසෑදිය යුතුයි. සාදන්නේ නම් දුක්කට ඇවැතක් වේ. (2 පාරාජිකාව)

3) නොබිඳුනු සිරුරකින් පාංශුකූල වස්ත්‍රය නොගත යුතුය. ගන්නේ නම් දුක්කට ඇවැතක් වේ. (2 පාරාජිකාව)

4) "(දායකයෙකුට) ඔබ විසින් මෙසේ කීවයි කියන්නෙමි"යි නොකිය යුතුය. කියා නම් දුක්කට ඇවැතක් වේ. (2 පාරාජිකාව)

5) "(දායකයෙකුට) මා විසින් මෙසේ කීවයි කියව"යි නොකිය යුතුය. කියා නම් දුක්කට ඇවැතක් වේ. (2 පාරාජිකාව)

6) "(දායකයෙකුට) ඔබ විසින් මෙසේ කීවයි කියන්නෙමි"යි නොකිය යුතු. "(දායකයෙකුට) මා විසින් මෙසේ කීවයි කියව"යි නොකිය යුතු. කියා නම් දෙදෙනාටම දුක්කට ඇවැත් වේ. (2 පාරාජිකාව)

7) අන් තැනක පරිභෝග කළ යුතු දෙය අන් තැනක දී පරිභෝග නොකළ යුතුය. යමෙක් එසේ පරිභෝග කෙරේ නම් දුක්කට ඇවැතක් වේ. (2 පාරාජිකාව)

8) පරීක්ෂා නොකොට අසුනෙහි නොහිඳිය යුතු. හිඳියි නම් දුක්කට ඇවැතක් වේ. (3 පාරාජිකාව)

9) සියදිවි නසා නොගත යුතුයි. නසා ගනී නම් දුක්කට ඇවැතක් වේ. (3 පාරාජිකාව)

10) කෙළි පිණිස ගල් නො පෙරළිය යුතු. පෙරළා නම් දුක්කට ඇවැතක් වේ. (3 පාරාජිකාව)

11) ගිහියන්ට බෙහෙත් කළොත් දුක්කට ඇවැතක් වේ. (3 පාරාජිකාව) (මෙය ශික්ෂාපදයක් ලෙස පණවා නොමැති නමුත් "විනිශ්චිත වස්තු" වල එය කළ පුද්ගලයාට දුක්කට ඇවැතක් වන බව කියා ඇත.)

12) බුහුමන් පතා කැළයෙහි නො විසිය යුතුය. වෙසේ නම් දුක්කට ඇවැතක් වේ. (4 පාරාජිකාව)

13) බුහුමන් පතා පිඬුපිණිස නො හැසිරිය යුතුය. හැසිරේ නම් දුක්කට ඇවැතක් වේ. (4 පාරාජිකාව)

14) බුහුමන් පතා සක්මන් කිරීම, සිටීම, හිඳීම, හොවීම නොකළ යුතුය. කෙරේ නම් දුක්කට ඇවැත් වේ. (4 පාරාජිකාව)

15) රාගයෙන් යුක්තව කාන්තාවකගේ අංගජාතය දෙස නොබැලිය යුතුය. බලා නම් දුක්කට ඇවැතක් වේ. (1 සංඝාදිසේසය)

16) නිස්සජනය කළ සිවුර නැවත දිය යුතුය. නොදේ නම් දුක්කට ඇවැතක් වේ. (1 නිසැඟි පචිතිය)

17) පස් දෙනෙකුට පිරුළු කොට (පාරිවට්ටකං : යම් සිවුරක් වෙනුවට වෙනත් සිවුරක් මාරු කර) ගන්නට හෝ දෙන්නට අනුදැනීම. (පස් දෙනා නම් : භික්ෂුව, භික්ෂුණිය, සික්ඛමානාව, හෙරණ, හෙරණි) (5 නිසැඟි පචිතිය, 25 පාචිත්තිය).

18) සිවුරු (තුන් සිවුරම) පැහැරගත් හෝ නැසුණ සිවුරු ඇත්තෙකුට නො නෑ ගෘහපතියෙකුගෙන් හෝ ගෘහපතිනියකගෙන් හෝ සිවුරක් ඉල්වා ගන්නට අනුදැනීම. පළමුව යන යම් ආවාසයක සංඝයාට අයත් විහාර සිවුරක් හෝ පසතුරුණෙක් (මේස ඇඳ ආදියේ එලන ලද්දක්) හෝ බුමුතුරුණෙක් හෝ ගුදිරි උරයක් හෝ තිබේ නම් එය ගෙන "සිවුරක් ලද විට මෙය නැවත තබන්නෙමි"යි පොරවා ගැනීමට අනුදැනීම. එවැන්නක් හෝ නො ලැබේ නම් තණ හෝ කොළ වලින් වසාගෙන යා යුතුයි. නගන්ව නොයා යුතුයි. නගන්ව යා නම් දුක්කට ඇවැතක් වේ. (6 නිසැඟි පචිතිය)

19) කැළයේ වසන, පිණ්ඩපාතික, පාංශුකූලික භික්ෂූන්ට කැමති වේලාවක භාග්‍යවතුන් වහන්සේ බැහැ දැකීමට පැමිණීමට අනුදැනීම. (15 නිසැඟි පචිතිය)

20) නිස්සජනය කළ පාත්‍රය නැවත දිය යුතුය. නොදේ නම් දුක්කට ඇවැතක් වේ. (21 නිසැඟි පචිතිය)

21) ඌනපඤ්චබන්ධන ශික්ෂාපදයේ ඌනපඤ්චබන්ධන පාත්‍රය සංඝයාට නිස්සජනය කළ විට

    i. අන් මහණෙක් "මහැඟි පාත්‍රයක් ගන්නෙමි"යි ලාමක පාත්‍රයක් ඉටයි නම් දුක්කට ඇවැතක් වේ.

ii. පාත්‍රය ගන්වන විට ඇවැතට පත් පුද්ගලයා කෙරෙහි අනුකම්පාවෙන් එම පාත්‍රය නොගෙන සිටියොත් ඒ නොගන්නා පුද්ගලයාට දුක්කට ඇවැතක් වේ.

iii. ඇවැතට පත් පුද්ගලයාට අවසානයේ ලැබෙන පාත්‍රය ඔහු විසින් "මේ පාත්‍රය කෙසේ නම් නැසෙන්නේද"යි නුසුදුසු තැනක තබා නම් හෝ නුසුදුසු පාරිභොගයෙන් වළඳා නම් හෝ අනෙකෙකුට දෙයි නම් හෝ දුක්කට ඇවැතක් වේ. (12 නිසැගි පචිතිය)

22) වැසි සළුව ඇති කල්හි නග්නව වැස්සේ නහා නම් දුක්කට ඇවැතක් වේ. (24 නිසැගි පචිතිය)

23) අට මාසයේ (ගිම්හාන හා හේමන්ත ඍතු වල) වැසි නොවසින ලකුණු ඇති කල්හි කපුටන් හෝ උකුස්සන් හෝ මල පහ නොකරන මඩුවක හෝ ගසක් යට හෝ සෙනසුන් (තාවකාලිකව) බහා තබන්නට අනුදැනීම. (14 පචිතිය)

24) අංග අටකින් යුත් භික්ෂුවට භික්ඛුනෝවාදක සම්මුතිය දීමට අනුදැනීම. (21 පචිතිය)

25) ඉවසූ බත (පිළිගත් දානාරාධනය) "මා ඉවසූ බත මෙනම්හුට දෙමි"යි විකප්පනය කොට පරම්පරභෝජනය වළඳන්නට අනුදැනීම. (33 පචිතිය)

26) බුදුරදුන් හෝ ධර්මය හෝ සංඝයා හෝ ඇරබැ කෙළිකවටකම් නො කළ යුතුයි. කෙරේ නම් දුක්කට ඇවැතක් වේ. (51 සේඛියාව)

## 2 . භික්ඛුනී විභඞගයේ එන අනුදූන වැදෑරීමක්

භික්ඛුනී විභඞගයේ පාචිත්තිය කාණ්ඩයේ 4.3.10 ශික්ෂාපදයේ භික්ෂූන්ට අදාල එක් අනුදැන වැදෑරීමක් පැමිණේ. එය නම් : දායකයන්ගේ ඉල්ලීමක් සළකා කඨිනය ඉදිරීමට අනුදූනීමයි. එය කරන ආකාරයද එහි විස්තර වේ.

## 3 . ථුල්ලච්චය ඇවැත්

බන්ධක වල හැම විටම පාහේ පැමිණෙන්නේ දුක්කට ආපත්තිය. නමුත් අවස්ථා 10කදී ථුල්ලච්චය ඇවැත් සඳහන් වේ. ඒවා නම්:

1) සංඝයා අතර භේදවීමක් පෙරදූරි කරගෙන වර්ගව වර්ග-සඤ්ඤීව පොහොය කළොත් ථුල්ලච්චය ඇවැතක් වේ. (1.2.72)

2) සංඝයා අතර භේදවීමක් පෙරදූරි කරගෙන වර්ගව වර්ග-සඤ්ඤීව පවාරණය කළොත් ථුල්ලච්චය ඇවැතක් වේ. (1.4.17)

3) රාගයෙන් යුක්තව එළදෙනකගේ අංගජාතය ස්පර්ශ කළොත් ථුල්ලච්චය ඇවැතක් වේ. (1.5.10)

4) සම්බාධ ස්ථානය වටා දෑඟුලක් හාත්පස ශල්‍යකර්ම හෝ වස්ති කර්ම හෝ කරවා නම් ථුල්ලච්චය ඇවැතක් වේ. (1.6.32)

5) මිනිස් මස් වළඳා නම් ථුල්ලච්චය ඇවැතක් වේ. (1.6.33)

6) අන්‍යතීර්ථක ව්‍රතයක් වූ නග්න භාවය සමාදන් වුවොත් ථුල්ලච්චය ඇවැතක් වේ. (1.8.42)

7) අන්‍යාගමික ඇඳුම් වූ කුසවැහැරී, වා වැහැරී, පෝරු වැහැරී, කෙහෙකම්බිලි, සැඩසතුන්ගේ ලොමින් කළ කම්බිලි, බකමූණු පියාපත්, අඳුන් දිවි සම් දරා නම් ථුල්ලච්චය ඇවැතක් වේ. (1.8.43)

8) තමාගේ අංගජාතය සිඳ දූමුවොත් ථුල්ලච්චය ඇවැතක් වේ. (2.5.20)

9) සංඝයා විසින් හෝ ගණයා විසින් හෝ පුද්ගලයා විසින් හෝ අනෙකකුට (පුද්ගලික අයිතියට) නොදිය යුතු, දෙන ලද්දේද නො දෙන ලද්දේ වන පහකි. යමෙක් මේවා දෙන්නේ නම් ථුල්ලච්චය ඇවැතක් වේ. ඒවා නම්,
   i. ආරාමය, ආරාම වත්ත
   ii. විහාරය, විහාර වත්ත
   iii. ඇඳ, පුටු, මෙට්ට, කොට්ට
   iv. ලෝහ සැළිය, ලෝහ පැණ, ලෝහ කළය, ලෝහ කටාරම, වෑය, පොරොව, කෙටේරිය, උදැල්ල, නියන
   v. වැල්, හුන, මුදුතණ, බබුස් තණ, සෙසු තෘණ වර්ග, මැටි, ලී භාණ්ඩ, මැටි භාණ්ඩ. (2.6.54)

10) ඉහත කරුණෙහි සඳහන් පහම (පුද්ගලික අයිතියට) සංඝයා විසින් හෝ ගණයා විසින් හෝ පුද්ගලයෙකු විසින් හෝ නොබෙදිය යුතුය. බෙදන ලද්දේද නොබෙදන ලද්දේ වේ. යමෙක් බෙදන්නේ නම් ථුල්ලච්චය ඇවැතක් වේ. (2.6.55)

- සංඝභේදානුවත්තක භික්ෂුවට ථුල්ලච්චය ඇවැතක් වේ. (2.7.3) (මෙම ථුලසි ඇවැත සිදුවන්නේ භේදවීමක් පෙරදැරි කරගෙන වර්ගව වර්ග-සඤ්ඤීව පොහොය කිරීම නිසා බව පෙනේ. (1.2.72))

## 4 . දුර්භික්ෂ අවස්ථාවක අවසරදී පසුව ඉවත් කළ කරුණු පහ

1) (ආරාමය) ඇතුලත තබන ලද, ඇතුලත පිසින ලද, තමන් පිසූ දෙය අනුදැනීම.

2) නොපිළිගැන්වූ පළතුරු ආදී දෙයක් තමන්ම ගෙන ගොස් කැපකරුවෙකු දැක බිම හෙළා පිළිගන්වා ගෙන වැළඳීමට (උග්ගහිතපටිග්ගහිතං) අනුදැනීම.

3) වැළඳු තැනින් ගෙන එන ලද අතිරික්ත නොකළ ආහාරය වළඳා අවසන් කළ පවාරිත භික්ෂුව විසින් වැළඳීමට අනුදැනීම.

4) පෙරවරුවෙහි පිළිගත් අතිරික්ත නොකළ ආහාරය වළඳා අවසන් කළ පවාරිත භික්ෂුව විසින් වැළඳීමට අනුදැනීම.

5) කැළයෙන් හෝ පොකුණෙන් ගෙන ආ අතිරික්ත නොකළ ආහාරය වළඳා අවසන් කළ පවාරිත භික්ෂුව විසින් වැළඳීමට අනුදැනීම.

දුර්භික්ෂ කාලයේ අනුදන වැදෑරූ මෙම කරුණු පහ සුභික්ෂ වූ පසු ප්‍රතික්ෂේප කරන ලදී. පළමු වන කරුණු 2හි දුක්කට ඇවැත්ද, අන් තුනෙහි පවාරිත ශික්ෂා පදයේ එන පරිදි පචිති ඇවැත්ද වේ.

## 5 . සංඝභේදය ඇති කිරීමට දේවදත්ත ඉල්ලූ කරුණු 5

දේවදත්තගේ ඉල්ලීම :

"ස්වාමීනි, භාග්‍යවතුන් වහන්සේ නොයෙක් ආකාරයෙන් අල්පේච්ඡතාවය, ලද දෙයින් සතුටුවීම, කෙලෙස් ගෙවා දැමීම, ධූතාංග ගුණය, ප්‍රසාද ජනක බව, යටහත් පැවැත්ම, වීර්යාරම්භය අගය කරණ සේක. මේ කරුණු පහද අල්පේච්ඡතාවය, ලද දෙයින් සතුටු වීම, කෙලෙස් ගෙවා ලීම, ධූතාංග ගුණ, ප්‍රසාද ජනක බව, යටහත් පැවැත්ම, වීර්යාරම්භය පිණිස පවතී.

1) භික්ෂූන් දිවි ඇති තෙක් කැළයේ විසිය යුතුය. ගමක විසීමට යා නම් වරදක් කරන්නේය.

2) භික්ෂූන් දිවි ඇති තෙක් පිණ්ඩපාතික විය යුතුය. දාන ආරාධනාවක් පිළිගතහොත් වරදක් කරන්නේය.

3) භික්ෂූන් දිවි ඇති තෙක් පාංශුකූලික විය යුතුය. දායකයෙක් දුන් සිවුරක් පිළිගත හොත් වරදක් කරන්නේය.

4) භික්ෂූන් දිවි ඇති තෙක් ගස් මුල සිටිය යුතුය. වහලක් යටට ගියහොත් වරදක් කරන්නේය.

5) භික්ෂූන් දිවි ඇති තෙක් මස් මාළු නොකෑ යුතුය. මස් මාළු වැළඳුවොත් වරදක් කරන්නේය."

බුදුන්වහන්සේ දුන් පිළිතුර :

"දේවදත්ත, කම් නැත. යමෙක් කැමති නම් කැළයේ සිටීවා, යමෙක් කැමැති නම් ගමෙහි වෙසේවා, යමෙක් කැමැතිනම් පිණ්ඩපාතික වේවා, යමෙක් කැමති නම් දානාරාධනා පිළිගනීවා, යමෙක් කැමැති නම් පාංශුකූලික වේවා, යමෙක් කැමති නම් දායකයන් දෙන සිවුරු පිළිගනීවා, මා විසින් අට මසක් (වස්සාන ඍතුවේ මාස 4 හැර) ගස් මුල විසීම අනුදක්නා ලදී. තමා උදෙසා මරන ලදැයි නොදුටු, නො ඇසූ, සැක නොකරන ලද ත්‍රිකෝටි පාරිශුද්ධ මස් මාළු මා විසින් අනුදක්නා ලදී."

රුක්ෂ ප්‍රතිපත්ති වලට මිනිසුන් කැමැති යැයි පවසා දේවදත්ත මෙම කරුණු පහ මුල් කරගෙන සංඝභේදය කළේය.